

# අ.පො.ස (සා.පෙළ) විභාගය - 2013

# ඇගයීම් වාර්තාව

# 61 - භූගෝල විද්‍යාව




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2013

## ඇගයීම් වාර්තාව

# 61 - භූගෝල විද්‍යාව




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.

**සියලු ම හිමිකම් ඇවිරිණි.**

**භූගෝල විද්‍යාව**

ඇගයීම් වාර්තාව - අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2013

## මූල්‍ය අනුග්‍රහය

අනාගත දැනුම් කේන්ද්‍රීය පදනම ලෙස පාසල් පද්ධතිය ප්‍රතිනිර්මාණය කිරීමේ ව්‍යාපෘතිය (TSEP-WB) මගිනි.

# හැඳින්වීම

ශ්‍රී ලංකාවේ ප්‍රසිද්ධ විභාග අතුරින් වැඩි ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් පෙනී සිටින්නේ අ.පො.ස.(සා.පෙළ) විභාගය සඳහා ය. ජාතික මට්ටමින් පැවැත්වෙන මෙම විභාගයේ ප්‍රතිඵල මත නිකුත් කෙරෙන සහතිකය, උසස් අධ්‍යාපනය සඳහා සුදුසුසන් තෝරා ගැනීමට පමණක් නොව මධ්‍යම මට්ටමේ රැකියා අවස්ථා ලබාගැනීමට ද ජාතික හා ජාත්‍යන්තර විශ්වවිද්‍යාලවල සමහර පාඨමාලා හැදෑරීමට මූලික සුදුසුකමක් ලෙස සැලකෙන මිනුම් දණ්ඩක් වශයෙන් ද පිළිගැනේ. මෙලෙස පිළිගැනෙන්නේ මෙම විභාගයේ ඇති වලංගුතාව හා විශ්වසනීයතාව මෙන් ම ඉහළ ගුණාත්මක බව ද හේතුවෙනි.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද ඇඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. මේ නිසා මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා පුස්තකාලයට යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව කොටස් තුනකින් යුක්ත වන අතර විෂය අභිමතාර්ථ සහ විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද මෙම විෂයයෙහි ප්‍රශ්න පත්‍ර ඇසුරෙන් අයදුම්කරුවන්ගේ සාධනය, එක් එක් ප්‍රශ්නය සඳහා වෙන් වෙන්ව ද මෙහි I කොටසෙහි ඇතුළත් වේ. ඇගයීම් හා පරීක්ෂණ ක්ෂේත්‍රයේ භාවිත වන සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) සහ අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) පදනම් කරගෙන, විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මගින් මෙම විශ්ලේෂණ සිදුකර ඇත.

භූගෝල විද්‍යාව විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍ර සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටි, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා ප්‍රතිපෝෂණය සඳහා වූ යෝජනාවලින් මෙම වාර්තාවෙහි II කොටස සමන්විත වේ.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

මෙම වාර්තාවේ ගුණාත්මක බව වැඩි දියුණු කිරීම සඳහා එලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස ඉල්ලමි. මෙම වාර්තාව සකස් කිරීම සඳහා කැප වූ පාලක පරීක්ෂකවරුන් ඇතුළු සම්පත් දායකයින්ටත් RD ආකෘති මගින් තොරතුරු සැපයූ ප්‍රධාන/ අතිරේක ප්‍රධාන/ සහකාර පරීක්ෂකවරුන්ටත් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ඇතුළු කාර්ය මණ්ඩලයේ සියලු ම දෙනාටත් මාගේ හෘදයංගම ස්තුතිය පළ කරමි.

ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

2015 පෙබරවාරි 24
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

| | | |
|---|---|---|
| **උපදේශකත්වය** | : | ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර<br>විභාග කොමසාරිස් ජනරාල් |
| **මෙහෙයවීම හා සංවිධානය** | : | ගයාත්‍රි අබේගුණසේකර<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන) |
| **සම්බන්ධීකරණය** | : | ජේ.ඒ.ජේ.ආර්. ජයකොඩි<br>සහකාර විභාග කොමසාරිස් |
| **සංස්කරණය** | : | එම්.කේ. කිංස්ලි ප්‍රියන්ත<br>කථිකාචාර්ය<br>රුහුණු ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය<br><br>ආර්.පී. ලින්ටන් ධර්මදාස<br>ගුරු උපදේශක (විශ්‍රාමික)<br>නාත්තන්ඩිය |
| **සැකසුම් කමිටුව** | : | පී.ඒ. ලක්ෂ්මි හේමලතා<br>ගුරු සේවය I<br>බප/ මීග/ සාන්ත සෙබස්තියන් බාලිකා මහ විද්‍යාලය<br>කඳාන<br><br>සී. විජේන්ද්‍රා<br>නියෝජ්‍ය විදුහල්පති<br>කෑ/ මාව/ පින්නවල මධ්‍ය මහා විද්‍යාලය<br>රඹුක්කන<br><br>පී.යූ. බන්දුරත්න<br>ගුරු සේවය I<br>ගා/ බටේමුල්ල ජාතික පාසල<br>ඉමදූව<br><br>එම්.එච්. ධනපාල<br>ගුරු උපදේශක<br>කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය<br>මහියංගනය |
| **පරිගණක පිටපත සැකසුම** | : | ඩබ්ලිව්.ඒ.ඩී. චතුරිකා දිසානායක<br>පරිගණක දත්ත සටහන් ක්‍රියාකරු |

# ඇතුළත පිටු

පිටු අංකය

## I කොටස



## II කොටස



## III කොටස

## I කොටස

# 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

## 1.1. විෂය අභිමතාර්ථ

* තමා ජීවත්වන ලෝකයේ විවිධත්වය තේරුම්ගෙන එකිනෙකා සමඟත්, පරිසරය සමඟත් සුසංයෝගීව ජීවත් වීමට හුරුවෙයි.
* භෞතික හා මානව භූ දර්ශනයේ සංරචක, ගති ලක්ෂණ හා ක්‍රියාවලි පිළිබඳ අවබෝධයෙන් කටයුතු කරයි.
* භෞතික හා මානුෂ භූදර්ශනය සංරක්ෂණය කිරීමට හා පවත්වා ගැනීමට උපකාරී වන ධනාත්මක ආකල්ප වර්ධනය කර ගනියි.
* දත්ත හා තොරතුරු විශ්ලේෂණය කිරීම, අර්ථ නිරූපණය හා ඉදිරිපත් කිරීම සඳහා භූගෝල විද්‍යාවේ ක්‍රම ශිල්ප භාවිත කරයි.
* ජීවිතයේ අභියෝගාත්මක අවස්ථා ජය ගැනීමට උපකාරී වන සුවිශේෂ දිවිරැකුම් කුසලතා වර්ධනය කර ගනියි.
* ස්වභාව ධර්මය හා සමාජය අතර ඇති අන්තර් සම්බන්ධතා හඳුනා ගනියි.
* ස්වභාව ධර්මය හා සමාජය අතර ඇති රටාවන් හා ක්‍රියාවලීන්හි කාලීන හා අවකාශීය වෙනස්කම් හඳුනාගෙන ක්‍රියා කරයි.

## 1.2. විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1 විෂයය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 50871 | 1402 | 52273 |
| දෙමළ | 17129 | 4554 | 21683 |
| ඉංග්‍රීසි | 762 | 115 | 877 |
| එකතුව | **68762** | **6071** | **74833** |

වගුව 1

### 1.2.2 අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 9335 | 13.58 | 144 | 2.37 | 9479 | 12.67 |
| B | 10164 | 14.78 | 499 | 8.22 | 10663 | 14.25 |
| C | 21510 | 31.28 | 1952 | 32.15 | 23462 | 31.35 |
| S | 20087 | 29.21 | 2635 | 43.40 | 22722 | 30.36 |
| W | 7666 | 11.15 | 841 | 13.85 | 8507 | 11.37 |
| එකතුව | **68762** | **100.00** | **6071** | **100.00** | **74833** | **100.00** |

වගුව 2

### 1.2.3 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 2918 | 478 | 16.38 | 330 | 11.31 | 710 | 24.33 | 903 | 30.95 | 2421 | 82.97 | 497 | 17.03 |
| 2. ගම්පහ | 4150 | 389 | 9.37 | 479 | 11.54 | 1177 | 28.36 | 1381 | 33.28 | 3426 | 82.55 | 724 | 17.45 |
| 3. කළුතර | 2447 | 407 | 16.63 | 364 | 14.88 | 666 | 27.22 | 709 | 28.97 | 2146 | 87.70 | 301 | 12.30 |
| 4. මහනුවර | 5550 | 1124 | 20.25 | 812 | 14.63 | 1567 | 28.23 | 1457 | 26.25 | 4960 | 89.37 | 590 | 10.63 |
| 5. මාතලේ | 2413 | 505 | 20.93 | 407 | 16.87 | 682 | 28.26 | 558 | 23.12 | 2152 | 89.18 | 261 | 10.82 |
| 6. නුවරඑළිය | 3218 | 239 | 7.43 | 339 | 10.53 | 1038 | 32.26 | 1123 | 34.90 | 2739 | 85.11 | 479 | 14.89 |
| 7. ගාල්ල | 2600 | 348 | 13.38 | 421 | 16.19 | 823 | 31.65 | 698 | 26.85 | 2290 | 88.08 | 310 | 11.92 |
| 8. මාතර | 2711 | 486 | 17.93 | 485 | 17.89 | 849 | 31.32 | 676 | 24.94 | 2496 | 92.07 | 215 | 7.93 |
| 9. හම්බන්තොට | 1689 | 271 | 16.04 | 303 | 17.94 | 510 | 30.20 | 460 | 27.24 | 1544 | 91.42 | 145 | 8.58 |
| 10. යාපනය | 2137 | 212 | 9.92 | 292 | 13.66 | 627 | 29.34 | 665 | 31.12 | 1796 | 84.04 | 341 | 15.96 |
| 11. කිලිනොච්චි | 484 | 27 | 5.58 | 55 | 11.36 | 144 | 29.75 | 172 | 35.54 | 398 | 82.23 | 86 | 17.77 |
| 12. මන්නාරම | 735 | 62 | 8.44 | 122 | 16.60 | 255 | 34.69 | 251 | 34.15 | 690 | 93.88 | 45 | 6.12 |
| 13. වව්නියාව | 1099 | 118 | 10.74 | 188 | 17.11 | 372 | 33.85 | 334 | 30.39 | 1012 | 92.08 | 87 | 7.92 |
| 14. මුලතිව් | 640 | 24 | 3.75 | 58 | 9.06 | 151 | 23.59 | 253 | 39.53 | 486 | 75.94 | 154 | 24.06 |
| 15. මඩකලපුව | 910 | 94 | 10.33 | 145 | 15.93 | 288 | 31.65 | 253 | 27.80 | 780 | 85.71 | 130 | 14.29 |
| 16. අම්පාර | 1371 | 196 | 14.30 | 253 | 18.45 | 502 | 36.62 | 331 | 24.14 | 1282 | 93.51 | 89 | 6.49 |
| 17. ත්‍රිකුණාමලය | 2782 | 190 | 6.83 | 325 | 11.68 | 926 | 33.29 | 980 | 35.23 | 2421 | 87.02 | 361 | 12.98 |
| 18. කුරුණෑගල | 5881 | 1327 | 22.56 | 1212 | 20.61 | 1831 | 31.13 | 1174 | 19.96 | 5544 | 94.27 | 337 | 5.73 |
| 19. පුත්තලම | 2552 | 258 | 10.11 | 382 | 14.97 | 842 | 32.99 | 747 | 29.27 | 2229 | 87.34 | 323 | 12.66 |
| 20. අනුරාධපුරය | 2962 | 415 | 14.01 | 511 | 17.25 | 991 | 33.46 | 764 | 25.79 | 2681 | 90.51 | 281 | 9.49 |
| 21. පොළොන්නරුව | 1626 | 148 | 9.10 | 266 | 16.36 | 568 | 34.93 | 472 | 29.03 | 1454 | 89.42 | 172 | 10.58 |
| 22. බදුල්ල | 3079 | 529 | 17.18 | 520 | 16.89 | 945 | 30.69 | 800 | 25.98 | 2794 | 90.74 | 285 | 9.26 |
| 23. මොනරාගල | 1672 | 214 | 12.80 | 266 | 15.91 | 500 | 29.90 | 460 | 27.51 | 1440 | 86.12 | 232 | 13.88 |
| 24. රත්නපුරය | 3255 | 515 | 15.82 | 536 | 16.47 | 961 | 29.52 | 864 | 26.54 | 2876 | 88.36 | 379 | 11.64 |
| 25. කෑගල්ල | 3321 | 643 | 19.36 | 640 | 19.27 | 980 | 29.51 | 734 | 22.10 | 2997 | 90.24 | 324 | 9.76 |
| **සමස්ත දිවයින** | **62202** | **9219** | **14.82** | **9711** | **15.61** | **18905** | **30.39** | **17219** | **27.68** | **55054** | **88.51** | **7148** | **11.49** |

වගුව 3

## 1.2.4 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - අධ්‍යාපන කලාප අනුව

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 1033 | 272 | 26.33 | 85 | 8.23 | 193 | 18.68 | 283 | 27.40 | 833 | 80.64 | 200 | 19.36 |
| 2. හෝමාගම | 812 | 70 | 8.62 | 118 | 14.53 | 232 | 28.57 | 256 | 31.53 | 676 | 83.25 | 136 | 16.75 |
| 3. ශ්‍රී ජයවර්ධනපුර | 640 | 84 | 13.13 | 89 | 13.91 | 181 | 28.28 | 205 | 32.03 | 559 | 87.34 | 81 | 12.66 |
| 4. පිළියන්දල | 433 | 52 | 12.01 | 38 | 8.78 | 104 | 24.02 | 159 | 36.72 | 353 | 81.52 | 80 | 18.48 |
| 5. ගම්පහ | 1245 | 170 | 13.65 | 150 | 12.05 | 378 | 30.36 | 357 | 28.67 | 1055 | 84.74 | 190 | 15.26 |
| 6 මිනුවන්ගොඩ | 1194 | 95 | 7.96 | 146 | 12.23 | 321 | 26.88 | 427 | 35.76 | 989 | 82.83 | 205 | 17.17 |
| 7. මීගමුව | 898 | 71 | 7.91 | 97 | 10.80 | 247 | 27.51 | 313 | 34.86 | 728 | 81.07 | 170 | 18.93 |
| 8. කැලණිය | 813 | 53 | 6.52 | 86 | 10.58 | 231 | 28.41 | 284 | 34.93 | 654 | 80.44 | 159 | 19.56 |
| 9. කළුතර | 1144 | 151 | 13.20 | 136 | 11.89 | 321 | 28.06 | 360 | 31.47 | 968 | 84.62 | 176 | 15.38 |
| 10. මතුගම | 557 | 113 | 20.29 | 105 | 18.85 | 150 | 26.93 | 142 | 25.49 | 510 | 91.56 | 47 | 8.44 |
| 11. හොරණ | 746 | 143 | 19.17 | 123 | 16.49 | 195 | 26.14 | 207 | 27.75 | 668 | 89.54 | 78 | 10.46 |
| 12. මහනුවර | 1584 | 672 | 42.42 | 253 | 15.97 | 337 | 21.28 | 233 | 14.71 | 1495 | 94.38 | 89 | 5.62 |
| 13. දෙනුවර | 599 | 64 | 10.68 | 94 | 15.69 | 202 | 33.72 | 174 | 29.05 | 534 | 89.15 | 65 | 10.85 |
| 14. ගම්පොල | 916 | 72 | 7.86 | 95 | 10.37 | 304 | 33.19 | 324 | 35.37 | 795 | 86.79 | 121 | 13.21 |
| 15. තෙල්දෙණිය | 601 | 60 | 9.98 | 77 | 12.81 | 176 | 29.28 | 196 | 32.61 | 509 | 84.69 | 92 | 15.31 |
| 16. වත්තේගම | 909 | 141 | 15.51 | 132 | 14.52 | 257 | 28.27 | 251 | 27.61 | 781 | 85.92 | 128 | 14.08 |
| 17. කටුගස්තොට | 941 | 115 | 12.22 | 161 | 17.11 | 291 | 30.92 | 279 | 29.65 | 846 | 89.90 | 95 | 10.10 |
| 18. මාතලේ | 1307 | 384 | 29.38 | 219 | 16.76 | 337 | 25.78 | 259 | 19.82 | 1199 | 91.74 | 108 | 8.26 |
| 19. ගලේවෙල | 659 | 70 | 10.62 | 108 | 16.39 | 194 | 29.44 | 196 | 29.74 | 568 | 86.19 | 91 | 13.81 |
| 20. නාඋල | 241 | 25 | 10.37 | 41 | 17.01 | 81 | 33.61 | 57 | 23.65 | 204 | 84.65 | 37 | 15.35 |
| 21. විල්ගමුව | 206 | 26 | 12.62 | 39 | 18.93 | 70 | 33.98 | 46 | 22.33 | 181 | 87.86 | 25 | 12.14 |
| 22. නුවරඑළිය | 942 | 40 | 4.25 | 59 | 6.26 | 306 | 32.48 | 369 | 39.17 | 774 | 82.17 | 168 | 17.83 |
| 23. කොත්මලේ | 249 | 36 | 14.46 | 29 | 11.65 | 90 | 36.14 | 69 | 27.71 | 224 | 89.96 | 25 | 10.04 |
| 24. හැටන් | 911 | 33 | 3.62 | 80 | 8.78 | 309 | 33.92 | 332 | 36.44 | 754 | 82.77 | 157 | 17.23 |
| 25. වලපනේ | 514 | 39 | 7.59 | 90 | 17.51 | 168 | 32.68 | 167 | 32.49 | 464 | 90.27 | 50 | 9.73 |
| 26. හඟුරන්කෙත | 602 | 91 | 15.12 | 81 | 13.46 | 165 | 27.41 | 186 | 30.90 | 523 | 86.88 | 79 | 13.12 |
| 27. ගාල්ල | 973 | 163 | 16.75 | 149 | 15.31 | 296 | 30.42 | 257 | 26.41 | 865 | 88.90 | 108 | 11.10 |
| 28. ඇල්පිටිය | 669 | 82 | 12.26 | 117 | 17.49 | 216 | 32.29 | 180 | 26.91 | 595 | 88.94 | 74 | 11.06 |
| 29. අම්බලන්ගොඩ | 586 | 58 | 9.90 | 81 | 13.82 | 167 | 28.50 | 193 | 32.94 | 499 | 85.15 | 87 | 14.85 |
| 30. උඩුගම | 372 | 45 | 12.10 | 74 | 19.89 | 144 | 38.71 | 68 | 18.28 | 331 | 88.98 | 41 | 11.02 |
| 31. මාතර | 968 | 211 | 21.80 | 153 | 15.81 | 288 | 29.75 | 234 | 24.17 | 886 | 91.53 | 82 | 8.47 |
| 32. අකුරැස්ස | 495 | 90 | 18.18 | 88 | 17.78 | 159 | 32.12 | 116 | 23.43 | 453 | 91.52 | 42 | 8.48 |
| 33. මුලටියන-හක්මණ | 744 | 142 | 19.09 | 173 | 23.25 | 237 | 31.85 | 155 | 20.83 | 707 | 95.03 | 37 | 4.97 |
| 34. මොරවක-දෙනියාය | 504 | 43 | 8.53 | 71 | 14.09 | 165 | 32.74 | 171 | 33.93 | 450 | 89.29 | 54 | 10.71 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 35. තංගල්ල | 505 | 64 | 12.67 | 102 | 20.20 | 154 | 30.50 | 152 | 30.10 | 472 | 93.47 | 33 | 6.53 |
| 36. හම්බන්තොට | 631 | 96 | 15.21 | 95 | 15.06 | 201 | 31.85 | 173 | 27.42 | 565 | 89.54 | 66 | 10.46 |
| 37. වලස්මුල්ල | 553 | 111 | 20.07 | 106 | 19.17 | 155 | 28.03 | 135 | 24.41 | 507 | 91.68 | 46 | 8.32 |
| 38. යාපනය | 750 | 111 | 14.80 | 116 | 15.47 | 216 | 28.80 | 208 | 27.73 | 651 | 86.80 | 99 | 13.20 |
| 39. දූපත් | 173 | 5 | 2.89 | 14 | 8.09 | 40 | 23.12 | 69 | 39.88 | 128 | 73.99 | 45 | 26.01 |
| 40. තෙන්මාරච්චි | 244 | 28 | 11.48 | 48 | 19.67 | 76 | 31.15 | 55 | 22.54 | 207 | 84.84 | 37 | 15.16 |
| 41. වලිකාමන් | 566 | 36 | 6.36 | 67 | 11.84 | 166 | 29.33 | 212 | 37.46 | 481 | 84.98 | 85 | 15.02 |
| 42. වඩමරච්චි | 404 | 32 | 7.92 | 47 | 11.63 | 129 | 31.93 | 121 | 29.95 | 329 | 81.44 | 75 | 18.56 |
| 43. කිලිනොච්චි | 484 | 27 | 5.58 | 55 | 11.36 | 144 | 29.75 | 172 | 35.54 | 398 | 82.23 | 86 | 17.77 |
| 44. මන්නාරම | 571 | 58 | 10.16 | 110 | 19.26 | 198 | 34.68 | 179 | 31.35 | 545 | 95.45 | 26 | 4.55 |
| 45. මඩු | 164 | 4 | 2.44 | 12 | 7.32 | 57 | 34.76 | 72 | 43.90 | 145 | 88.41 | 19 | 11.59 |
| 46. වව්නියාව දකුණ | 895 | 111 | 12.40 | 161 | 17.99 | 283 | 31.62 | 270 | 30.17 | 825 | 92.18 | 70 | 7.82 |
| 47. වව්නියාව උතුර | 204 | 7 | 3.43 | 27 | 13.24 | 89 | 43.63 | 64 | 31.37 | 187 | 91.67 | 17 | 8.33 |
| 48. මුලතිව් | 436 | 20 | 4.59 | 49 | 11.24 | 123 | 28.21 | 143 | 32.80 | 335 | 76.83 | 101 | 23.17 |
| 49. තුනුක්කායි | 204 | 4 | 1.96 | 9 | 4.41 | 28 | 13.73 | 110 | 53.92 | 151 | 74.02 | 53 | 25.98 |
| 50. මඩකලපුව | 261 | 23 | 8.81 | 33 | 12.64 | 76 | 29.12 | 78 | 29.89 | 210 | 80.46 | 51 | 19.54 |
| 51. කල්කුඩා | 298 | 31 | 10.40 | 28 | 9.40 | 88 | 29.53 | 99 | 33.22 | 246 | 82.55 | 52 | 17.45 |
| 52. පදිරිප්පු | 215 | 22 | 10.23 | 49 | 22.79 | 74 | 34.42 | 49 | 22.79 | 194 | 90.23 | 21 | 9.77 |
| 53. මඩකලපුව (මධ්‍යම) | 103 | 18 | 17.48 | 33 | 32.04 | 41 | 39.81 | 10 | 9.71 | 102 | 99.03 | 1 | 0.97 |
| 54. මඩකලපුව (බටහිර) | 33 | 0 | 0.00 | 2 | 6.06 | 9 | 27.27 | 17 | 51.52 | 28 | 84.85 | 5 | 15.15 |
| 55. අම්පාර | 488 | 76 | 15.57 | 120 | 24.59 | 166 | 34.02 | 95 | 19.47 | 457 | 93.65 | 31 | 6.35 |
| 56. කල්මුනේ | 99 | 16 | 16.16 | 18 | 18.18 | 40 | 40.40 | 17 | 17.17 | 91 | 91.92 | 8 | 8.08 |
| 57. සමන්තුරෙයි | 56 | 7 | 12.50 | 13 | 23.21 | 22 | 39.29 | 12 | 21.43 | 54 | 96.43 | 2 | 3.57 |
| 58. මහඔය | 93 | 17 | 18.28 | 11 | 11.83 | 18 | 19.35 | 34 | 36.56 | 80 | 86.02 | 13 | 13.98 |
| 59. දෙහිඅත්තකණ්ඩිය | 178 | 18 | 10.11 | 26 | 14.61 | 68 | 38.20 | 44 | 24.72 | 156 | 87.64 | 22 | 12.36 |
| 60. අක්කරෙයිපත්තුව | 121 | 9 | 7.44 | 27 | 22.31 | 55 | 45.45 | 30 | 24.79 | 121 | 100.00 | 0 | 0.00 |
| 61. තිරුක්කෝවිල් | 336 | 53 | 15.77 | 38 | 11.31 | 133 | 39.58 | 99 | 29.46 | 323 | 96.13 | 13 | 3.87 |
| 62. ත්‍රිකුණාමලය | 699 | 26 | 3.72 | 59 | 8.44 | 190 | 27.18 | 293 | 41.92 | 568 | 81.26 | 131 | 18.74 |
| 63. මුතූර් | 685 | 39 | 5.69 | 71 | 10.36 | 229 | 33.43 | 251 | 36.64 | 590 | 86.13 | 95 | 13.87 |
| 64. කන්තලේ | 323 | 30 | 9.29 | 48 | 14.86 | 105 | 32.51 | 103 | 31.89 | 286 | 88.54 | 37 | 11.46 |
| 65. කින්නියා | 795 | 86 | 10.82 | 121 | 15.22 | 310 | 38.99 | 222 | 27.92 | 739 | 92.96 | 56 | 7.04 |
| 66. ත්‍රිකුණාමලය (උතුර) | 280 | 9 | 3.21 | 26 | 9.29 | 92 | 32.86 | 111 | 39.64 | 238 | 85.00 | 42 | 15.00 |
| 67. කුරුණෑගල | 1372 | 456 | 33.24 | 292 | 21.28 | 353 | 25.73 | 201 | 14.65 | 1302 | 94.90 | 70 | 5.10 |
| 68. කුලියාපිටිය | 774 | 125 | 16.15 | 145 | 18.73 | 231 | 29.84 | 197 | 25.45 | 698 | 90.18 | 76 | 9.82 |
| 69. නිකවැරටිය | 855 | 185 | 21.64 | 192 | 22.46 | 276 | 32.28 | 169 | 19.77 | 822 | 96.14 | 33 | 3.86 |
| 70. මහව | 1288 | 212 | 16.46 | 266 | 20.65 | 432 | 33.54 | 299 | 23.21 | 1209 | 93.87 | 79 | 6.13 |
| 71. ගිරිඋල්ල | 702 | 102 | 14.53 | 131 | 18.66 | 249 | 35.47 | 167 | 23.79 | 649 | 92.45 | 53 | 7.55 |
| 72. ඉබ්බාගමුව | 890 | 247 | 27.75 | 186 | 20.90 | 290 | 32.58 | 141 | 15.84 | 864 | 97.08 | 26 | 2.92 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 73. පුත්තලම | 1617 | 123 | 7.61 | 233 | 14.41 | 534 | 33.02 | 491 | 30.36 | 1381 | 85.41 | 236 | 14.59 |
| 74. හලාවත | 935 | 135 | 14.44 | 149 | 15.94 | 308 | 32.94 | 256 | 27.38 | 848 | 90.70 | 87 | 9.30 |
| 75. අනුරාධපුරය | 708 | 117 | 16.53 | 120 | 16.95 | 223 | 31.50 | 177 | 25.00 | 637 | 89.97 | 71 | 10.03 |
| 76. තඹුත්තේගම | 708 | 78 | 11.02 | 118 | 16.67 | 255 | 36.02 | 190 | 26.84 | 641 | 90.54 | 67 | 9.46 |
| 77. කැකිරාව | 643 | 112 | 17.42 | 102 | 15.86 | 192 | 29.86 | 170 | 26.44 | 576 | 89.58 | 67 | 10.42 |
| 78. ගලෙන්බිඳුනුවැව | 497 | 68 | 13.68 | 98 | 19.72 | 168 | 33.80 | 121 | 24.35 | 455 | 91.55 | 42 | 8.45 |
| 79. කැබිතිගොල්ලෑව | 406 | 40 | 9.85 | 73 | 17.98 | 153 | 37.68 | 106 | 26.11 | 372 | 91.63 | 34 | 8.37 |
| 80. පොළොන්නරුව | 518 | 63 | 12.16 | 106 | 20.46 | 179 | 34.56 | 122 | 23.55 | 470 | 90.73 | 48 | 9.27 |
| 81. හිඟුරක්ගොඩ | 686 | 61 | 8.89 | 99 | 14.43 | 217 | 31.63 | 219 | 31.92 | 596 | 86.88 | 90 | 13.12 |
| 82. දිඹුලාගල | 422 | 24 | 5.69 | 61 | 14.45 | 172 | 40.76 | 131 | 31.04 | 388 | 91.94 | 34 | 8.06 |
| 83. බදුල්ල | 707 | 113 | 15.98 | 124 | 17.54 | 231 | 32.67 | 168 | 23.76 | 636 | 89.96 | 71 | 10.04 |
| 84. බණ්ඩාරවෙල | 856 | 200 | 23.36 | 149 | 17.41 | 243 | 28.39 | 202 | 23.60 | 794 | 92.76 | 62 | 7.24 |
| 85. මහියංගනය | 547 | 70 | 12.80 | 77 | 14.08 | 148 | 27.06 | 173 | 31.63 | 468 | 85.56 | 79 | 14.44 |
| 86. වැලිමඩ | 798 | 122 | 15.29 | 149 | 18.67 | 254 | 31.83 | 207 | 25.94 | 732 | 91.73 | 66 | 8.27 |
| 87. පස්සර | 171 | 24 | 14.04 | 21 | 12.28 | 69 | 40.35 | 50 | 29.24 | 164 | 95.91 | 7 | 4.09 |
| 88. මොනරාගල | 857 | 103 | 12.02 | 130 | 15.17 | 259 | 30.22 | 238 | 27.77 | 730 | 85.18 | 127 | 14.82 |
| 89. වැල්ලවාය | 542 | 58 | 10.70 | 80 | 14.76 | 157 | 28.97 | 170 | 31.37 | 465 | 85.79 | 77 | 14.21 |
| 90. බිබිල | 273 | 53 | 19.41 | 56 | 20.51 | 84 | 30.77 | 52 | 19.05 | 245 | 89.74 | 28 | 10.26 |
| 91. රත්නපුර | 1151 | 226 | 19.64 | 194 | 16.85 | 316 | 27.45 | 286 | 24.85 | 1022 | 88.79 | 129 | 11.21 |
| 92. බලන්ගොඩ | 789 | 113 | 14.32 | 138 | 17.49 | 231 | 29.28 | 190 | 24.08 | 672 | 85.17 | 117 | 14.83 |
| 93. නිවිතිගල | 544 | 78 | 14.34 | 86 | 15.81 | 179 | 32.90 | 147 | 27.02 | 490 | 90.07 | 54 | 9.93 |
| 94. ඇඹිලිපිටිය | 771 | 98 | 12.71 | 118 | 15.30 | 235 | 30.48 | 241 | 31.26 | 692 | 89.75 | 79 | 10.25 |
| 95. කෑගල්ල | 1336 | 323 | 24.18 | 266 | 19.91 | 377 | 28.22 | 264 | 19.76 | 1230 | 92.07 | 106 | 7.93 |
| 96. මාවනැල්ල | 1032 | 152 | 14.73 | 173 | 16.76 | 322 | 31.20 | 261 | 25.29 | 908 | 87.98 | 124 | 12.02 |
| 97. දෙහිඕවිට | 953 | 168 | 17.63 | 201 | 21.09 | 281 | 29.49 | 209 | 21.93 | 859 | 90.14 | 94 | 9.86 |
| **සමස්ත දිවයින** | 62202 | 9219 | 14.82 | 9711 | 15.61 | 18905 | 30.39 | 17219 | 27.68 | 55054 | 88.51 | 7148 | 11.49 |

වගුව 4

1.2.5 ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91 - 100 | 250 | 0.33 | 74833 | 100.00 |
| 81 - 90 | 2751 | 3.68 | 74583 | 99.67 |
| 71 - 80 | 7093 | 9.48 | 71832 | 95.99 |
| 61 - 70 | 11541 | 15.42 | 64739 | 86.51 |
| 51 - 60 | 16379 | 21.89 | 53198 | 71.09 |
| 41 - 50 | 16614 | 22.20 | 36819 | 49.20 |
| 31 - 40 | 12995 | 17.37 | 20205 | 27.00 |
| 21 - 30 | 5541 | 7.40 | 7210 | 9.63 |
| 11 - 20 | 1498 | 2.00 | 1669 | 2.23 |
| 01 - 10 | 160 | 0.21 | 171 | 0.23 |
| 00 - 00 | 11 | 0.01 | 11 | 0.01 |

වගුව 5

ඉහත වගුවෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.
උදා:- (31 - 40 පංති ප්‍රාන්තරය ගතහොත්)
මෙම විෂයය සඳහා 31 - 40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබාගත් සංඛ්‍යාව 12995කි. එය ප්‍රතිශතයක් වශයෙන් 17.37%කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 20205 ක් වන අතර, එය ප්‍රතිශතයක් වශයෙන් 27.00%කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1 I ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 1 (RD/16/05/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි අයදුම්කරුවන් වැඩිම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 1 ප්‍රශ්නයට ය. එහි පහසුතාව 90%කි. එමෙන්ම අයදුම්කරුවන් අඩුම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 22 ප්‍රශ්නයට ය. එහි පහසුතාව 12%කි.

### 1.3.2 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 ප්‍රශ්නය අනිවාර්ය වුව ද සුළු පිරිසක් එය තෝරාගෙන නැත. එයට පිළිතුරු සපයා ඇති ප්‍රතිශතය 99%කි. අඩුම ප්‍රතිශතයක් තෝරාගෙන ඇත්තේ 3 ප්‍රශ්නයයි. එම ප්‍රතිශතය 27%කි.

ප්‍රස්තාරය 2 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

### 1.3.3 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 20කි. එම ලකුණුවලින් 76 - 100% ප්‍රාන්තරයේ එනම් ලකුණු 16 - 20 තෙක් ලබා ගත් ප්‍රතිශතය 2%කි. එමෙන්ම ලකුණුවලින් 51-75% ප්‍රාන්තරයේ එනම් ලකුණු 11 - 15 තෙක් ලබා ගත් ප්‍රතිශතය 13%කි. එමෙන්ම ලකුණුවලින් 26 - 50% ප්‍රාන්තරයේ එනම් ලකුණු 6 - 10 තෙක් ලබාගත් ප්‍රතිශතය 52%කි. එමෙන්ම ලකුණුවලින් 0 - 25% ප්‍රාන්තරයේ එනම් ලකුණු 0 - 5 තෙක් ලබා ගත් ප්‍රතිශතය 33%කි.

ප්‍රස්තාරය 3 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

## 1.3.4 II ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 4.1 (RD/16/04/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- 1 ප්‍රශ්නයෙහි (අ) (vi) a අනුකොටසෙහි පහසුතාව 74%ක් වන අතර එම ප්‍රශ්නයේ (ආ) (iii) කොටසෙහි පහසුතාව 05%ක් පමණි.


අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2013
61 - භූගෝල විද්‍යාව
II පත්‍රයේ කොටස්වල පහසුතා දර්ශකය
පහසුතා දර්ශකය
1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0
(i) (ii) (a) (b) (iii)
6
(a) (b) (i) (ii) (a) (b) (iii)
7
(i) (ii) (iii)
8
(a) (b) (i) (ii) (iii)
9
III කොටස
ප්‍රශ්නයේ කොටස් හා අනුකොටස්

ප්‍රස්තාරය 4.2

# II කොටස

## 2. ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1 I පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

#### 2.1.1. I පත්‍රයේ ස්වභාවය හා ව්‍යුහය

අ.පො.ස.(සා.පෙළ) විභාගයේ (61) භූගෝල විද්‍යා විෂයයෙහි ශිෂ්‍ය සාධනය ඇගයීම සඳහා ප්‍රශ්න පත්‍ර 2ක් ඉදිරිපත් කෙරේ. එය භූගෝල විද්‍යාව I හා භූගෝල විද්‍යාව II වශයෙනි. මෙම ප්‍රශ්න පත්‍ර දෙකම අපේක්ෂකයින්ට එකවර දෙන අතර මෙම ප්‍රශ්න පත්‍ර දෙකම සඳහා නියමිත කාලය පැය 3කි.

**අවසාන ලකුණු ගණනය කිරීම**

| | | | | |
|---|---|---|---|---|
| භූගෝල විද්‍යා I | - | $(1 \times 40)$ | ලකුණු | 40 |
| භූගෝල විද්‍යා II | - | | ලකුණු | 60 |
| | | | අවසාන ලකුණ | 100 |

මෙම ප්‍රශ්න පත්‍රය වාස්තවික වර්ගයේ ප්‍රශ්න 40කි. ප්‍රශ්න සියල්ලටම පිළිතුරු ප්‍රශ්න පත්‍රයේම සැපයිය යුතුයි.

ඉන් ප්‍රශ්න අංක 1 - 10 දක්වා ඇති ප්‍රශ්නවලට වරහන් තුළ දී ඇති පිළිතුරු අතරින් ගැළපෙන පිළිතුර තෝරා තිත් ඉර මත ලිවීම ද, අංක 11 - 20 දක්වා ඇති ප්‍රශ්නවලට දී ඇති ප්‍රකාශය කියවා එය වැරදි හෝ නිවැරදි හෝ යන්න සඳහන් කිරීම ද,

අංක 21 - 30 දක්වා ඇති ප්‍රශ්නවලට සුදුසු වචනය ලිවීම ද,
අංක 31 - 40 දක්වා ඇති ප්‍රශ්නවලට නිවැරදි වරණය තේරීම ද
අපේක්ෂා කෙරිණි.

## 2.1.2. I පත්‍රය

- **1** සිට **10** තෙක් ප්‍රශ්නවල එක් එක් හිස්තැනට ගැළපෙන පිළිතුර වරහන් තුළින් **තෝරා තිත් ඉර මත ලියන්න.**

1. සෞර ග්‍රහ මණ්ඩලයේ ග්‍රහ ලෝක අතුරෙන් 'නිල් ග්‍රහයා' ලෙස හඳුන්වනු ලබන්නේ ................................... යි.
(පෘථිවිය / අඟහරු / සිකුරු)

2. ....................................... මුහුද සාගරයකට සම්බන්ධ නොවන මුහුදකි.
(බෝල්ටික් / මධ්‍යධරණී / කැස්පියන්)

3. වායුගෝලයත් ජලගෝලයත් අතර ජලය හුවමාරුවීමේ ක්‍රියාවලිය .................................. නමින් හැඳින්වේ.
(වාෂ්පීකරණය / වර්ෂණය / ජලචක්‍රය)

4. හවායි දූපත් .................................. සාගරයේ පිහිටා ඇත.
(අත්ලාන්තික් / පැසිෆික් / ඉන්දියන්)

5. ජල ගෝලයෙන් ............................... ක් ගොඩබිම් ජලය හෙවත් මිරිදිය වේ.
(27.8% / 2.78% / 77.78%)

6. උතුරු ඇමෙරිකාවේ පිහිටි සෞම්‍ය කලාපීය තෘණ භූමි .............................................. නමින් හැඳින්වේ.
(ප්‍රේරීස්/ ඩවුන්ස් / වෙල්ඩ්)

7. ............................ සබරගමුව කඳුවලට අයත් මුදුනකි.
(කොකාගල / කුකුළගල / ගෝවින්දහෙල)

8. කෘෂිකාර්මික කටයුතු සඳහා ළිං ජල සම්පාදනය ප්‍රධාන වශයෙන් ම යොදා ගනු ලබන්නේ ..................................
දිස්ත්‍රික්කයේ ය.
(අනුරාධපුර / කුරුණෑගල / යාපනය)

9. ලෝහමය ඛනිජ අතුරෙන් ....................................... 'ෆෙරස් ලෝහ' ගණයට අයත් ඛනිජයක් ලෙස සැලකේ.
(තඹ / යපස් / රන්)

10. ...................................... විපරීත පාෂාණ ගණයට අයත් වේ.
(ගල් අඟුරු / ග්‍රැනයිට් / දියමන්ති)

- **11** සිට **20** තෙක් දී ඇති එක් එක් ප්‍රකාශය කියවා බලා එය නිවැරදි නම් 'නි' යන්න වටා ද, වැරදි නම් 'වැ' යන්න වට ද රවුමක් අඳින්න.

11. ලෝකයේ මිලියන නගර වැඩි ම සංඛ්‍යාවක් පිහිටා ඇත්තේ ආසියා මහාද්වීපයේ ය. **නි / වැ**

12. ජන සංඛ්‍යා ප්‍රක්ෂේපණවලට අනුව ක්‍රි.ව. 2050 වන විට ඉන්දියාව ලෝකයේ වැඩි ම ජන සංඛ්‍යාවක් ඇති රට බවට පත් වනු ඇතැයි සැලකේ. **නි / වැ**

13. ඒක ශීර්ෂ දළ ජාතික නිෂ්පාදිතය ඉහළ අගයක් ගැනීම කාර්මික රටක ආර්ථිකයේ ලක්ෂණයකි. **නි / වැ**

14. පරිගණක මෘදුකාංග නිපදවීම අතින් ඉන්දියාව ලෝකයේ ප්‍රමුඛ ස්ථානයක් හිමි කර ගනී. **නි / වැ**

15. 'මඔරිවරු' නවසීලන්තයේ ආදිවාසීන් ලෙස සැලකේ. **නි / වැ**

16. පාංශු ස්ථරයක් මත ඇති ශාක හා සත්ව කොටස් දිරා යාමෙන් එකතු වන ජෛවීය ද්‍රව්‍ය 'හියුමස්' නම් වේ. **හි / වැ**

17. ශ්‍රී ලංකාවේ මුළු භූමි ප්‍රමාණයෙන් 35% ක් වනාන්තර වේ. **හි / වැ**

18. ඛනිජ තෙල් මිල ඉහළ යාම නිසා ඛනිජ තෙල් ආනයනය කරන සංවර්ධනය වෙමින් පවතින රටවල වෙළෙඳ ශේෂය මෑතක සිට සෘණ අගයක් ගෙන ඇත. **හි / වැ**

19. ලෝකයේ රටවල් අතර භාණ්ඩ ප්‍රවාහනය සඳහා බහුල ව යොදා ගැනෙන්නේ ගුවන් පරිවහන මාධ්‍යයයි. **හි / වැ**

20. ස්වාභාවික ආපදා වර්ග කිරීමට අනුව ලැව් ගිනි හා වසංගත රෝග ජීව විද්‍යාත්මක උපද්‍රව ගණයට අයත් වේ. **හි / වැ**

- **21** සිට **30** තෙක් ප්‍රශ්නවල හිස්තැන්වලට සුදුසු වචන යොද සම්පූර්ණ කරන්න.

21. ශ්‍රී ලංකාවට අයත් මුහුදු සීමාව තුළ වෙරළේ සිට නාවික සැතපුම් 12ක් දුරට විහිදෙන සාගර කලාපය හඳුන්වනු ලබන්නේ .............................. මුහුදු ප්‍රදේශය යන නමින් ය.

22. අසියා මහාද්වීපයේ පිහිටි දිගම ගංගාව ලෙස සැලකෙන්නේ චීනයේ ........................................ ගංගාවයි.

23. 1 : 50 000 පරිමාණයට අනුව අඳින ලද ශ්‍රී ලංකාවේ භූ ලක්ෂණ සිතියමක් මත සෙන්ටිමීටර 2 කින් දැක්වෙන දුරක් සැබෑ භූමියෙහි කිලෝමීටර................................ ක දුරකට සමාන වේ.

24. මැයි සිට සැප්තැම්බර් දක්වා කාලය තුළ ශ්‍රී ලංකාවේ පහත රට තෙත් කලාපයට ........................................ මෝසම් සුළඟින් වැඩි වර්ෂාපතනයක් ලැබේ.

25. හෙමටයිට්, මැග්නටයිට් හා ලිමොනයිට් යන යපස් වර්ග අතුරෙන් අන්තර්ගත යකඩ ප්‍රතිශතය අතිත් ඉහළ ම යපස් වර්ගය වන්නේ ........................................ ය.

26. ශ්‍රී ලංකාවේ ජන ව්‍යාප්තිය අනුව වතු ජනාවාස ආශ්‍රිත ජන සංඛ්‍යාවේ වැඩි ම ව්‍යාප්තියක් ඇති දිස්ත්‍රික්කය ................................... යි.

- පහත දැක්වෙන්නේ වර්ෂ 2008 සිට 2011 දක්වා සිව් වසර තුළ ශ්‍රී ලංකාවේ කෘෂි කර්මාන්ත, කර්මාන්ත හා සේවා යන අංශ තුනෙහි සේවා නියුක්තිය දැක්වෙන සමූහ රේඛා ප්‍රස්තාරයකි. එය අධ්‍යයනය කොට අංක **27** සිට **30** තෙක් ප්‍රශ්නවල හිස්තැන්වලට සුදුසු වචන යොද සම්පූර්ණ කරන්න.



(මූලාශ්‍රය: ශ්‍රී ලංකා මහබැංකු වාර්තාව-2012)

27. ප්‍රස්තාරයට අනුව අඩු ම සේවා නියුක්තියක් දැක්වෙන්නේ ..................................අංශයෙහි ය.

28. ප්‍රස්තාරයට අනුව වැඩි ම සේවා නියුක්තියක් දැක්වෙන්නේ ..................................අංශයෙහි ය.

29. 2008 වර්ෂයට සාපේක්ෂව බලන විට සේවා නියුක්තියෙහි වර්ධනයක් සිදු වී නැතැයි සිතිය හැක්කේ .......................... අංශයෙහි ය.

30. නොකඩවා ම සේවා නියුක්තියෙහි වර්ධනයක් සිදු වී ඇත්තේ ........................................ අංශයෙහි ය.

- **31** සිට **40** තෙක් ඇති එක් එක් ප්‍රශ්නයට දී ඇති පිළිතුරු හතර අතුරෙන් **නිවැරදි** හෝ **වඩාත් ගැළපෙන** පිළිතුර තෝරා එට හිමි අංකය ඉදිරියේ ඇති **තිත් ඉර මත** ලියා දක්වන්න.

31. අම්බලන්ගොඩ සිට දෙවුන්දර දක්වා වෙරළ තීරය, කුච්චවේලි, කල්කුඩා හා යාපන අර්ධද්වීපයේ වෙරළබඩ තීරය යන ප්‍රදේශවල බහුලව දක්නට ලැබෙන ඛනිජ වර්ගය,
(1) ඉල්මනයිට් ය. (2) හිරිගල් ය. (3) බෝල මැටි ය. (4) පිඟන් මැටි ය. (.........)

32.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) ඕස්ට්‍රේලියාවේ වයඹ දිග වෙරළ | A - ටොනාඩෝ |
| (ii) චීන මුහුදු ප්‍රදේශය | B - හරිකේන්ස් |
| (iii) බටහිර අත්ලන්තික් සාගර ප්‍රදේශය | C - ටයිෆූන් |
| (iv) ඇමෙරිකා එක්සත් ජනපදයේ මිසිසිපි ගංගා නැන්න | D - විලි විලීස් |

ඉහත I තීරුවේ ලෝකයේ සුළි කුණාටු බහුලව හට ගන්නා ප්‍රදේශ කිහිපයක නම් ද II තීරුවේ එම ප්‍රදේශවල හට ගන්නා සුළි කුණාටු හැඳින්වෙන විශේෂ නම් කිහිපයක් ද දක්වා ඇත. I තීරුවේ ඇති ප්‍රදේශවල අනු පිළිවෙළට ගැලපෙන සේ II තීරුව පෙළ ගස්වන්න.
(1) ABCD (2) DCBA (3) CBDA (4) BADC (.........)

33. සැබෑ භූමියේ වර්ග කිලෝමීටර 1කින් දැක්වෙන ප්‍රදේශයක් 1:50 000 පරිමාණයට අඳින ලද සිතියමක නිරූපණය වන්නේ වර්ග සෙන්ටිමීටර කීයකින් ද?
(1) එකකින් (2) දෙකකින් (3) හතරකින් (4) අටකින් (.........)

34. පසුගිය වසර කිහිපය තුළ ශ්‍රී ලංකාවෙන් අපනයනය කළ භාණ්ඩ අතුරෙන් වැඩි ම ප්‍රතිශතයක් හිමි කරගෙන ඇත්තේ පහත සඳහන් කවර ක්ෂේත්‍රය මගින් ද?
(1) කෘෂිකාර්මික නිෂ්පාදන (2) රෙදිපිළි නිෂ්පාදන
(3) මැණික්, දියමන්ති හා ස්වර්ණාභරණ (4) ඛනිජතෙල් නිෂ්පාදන (.........)

35. ග්‍රාමීය ජනාවාස ආශ්‍රිත වැඩි ම ජන සංඛ්‍යාවක් ඒකරාශි වී ඇති දිස්ත්‍රික්කය
(1) අනුරාධපුරයයි. (2) පොළොන්නරුවයි. (3) මොණරාගලයි. (4) නුවරඑළියයි. (.........)

36. ශ්‍රී ලංකාවේ මහාමාර්ග වර්ගීකරණය අනුව A-1 මාර්ගය ලෙස හඳුන්වනු ලබන්නේ,
(1) කොළඹ - ගාල්ල මාර්ගය යි. (2) කොළඹ - මහනුවර මාර්ගය යි.
(3) කොළඹ - රත්නපුරය මාර්ගය යි. (4) මහනුවර - යාපනය මාර්ගය යි. (.........)

37. ශ්‍රී ලංකාවට වාසුළිවල බලපෑම බහුලව දක්නට ලැබෙන මාස දෙක වන්නේ,
(1) ජනවාරි සහ පෙබරවාරි ය. (2) මාර්තු සහ අප්‍රේල් ය.
(3) සැප්තැම්බර් සහ ඔක්තෝබර් ය. (4) ඔක්තෝබර් සහ නොවැම්බර් ය. (.........)

38. කොකෝවා නිෂ්පාදනය සඳහා ප්‍රසිද්ධ අප්‍රිකානු රටකි,
(1) ට්‍රිනිඩෑඩ් සහ ටොබැගෝ. (2) ඝානා.
(3) සිම්බාබ්වේ. (4) කොස්ටාරිකා. (.........)

39. වර්තමානයේ ලෝකයේ සැහැල්ලු මෝටර් රථ නිෂ්පාදනයේ ප්‍රමුඛයා ලෙස ඉදිරියෙන් ම සිටින රට වන්නේ,
(1) ජපානයයි. (2) චීනයයි. (3) දකුණු කොරියාවයි. (4) ඉන්දියාවයි. (.........)

40.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) ඇස්කමෝවරු | A - ඕස්ට්‍රේලියාව |
| (ii) පිග්මි වරු | B - අප්‍රිකාවේ සහරා |
| (iii) බැදුවින් වරු | C - අප්‍රිකාවේ කොංගෝ වනාන්තර |
| (iv) ඇබොරිජින් වරු | D - ග්‍රීන්ලන්තය |
| (v) අයිනු වරු | E - ජපානය |

ඉහත I තීරුවේ ලෝකයේ වෙසෙන ආදිවාසී ජන කොට්ඨාස කිහිපයක නම් ද, II තීරුවේ ඔවුන් වාසය කරන ප්‍රදේශ කිහිපයක නම් ද දක්වා ඇත. I තීරුවේ අනු පිළිවෙළට ගැලපෙන සේ II තීරුව පෙළ ගස්වන්න.
(1) ACBED (2) DCBAE (3) CDEAB (4) DACBE (.........)

2.1.3 I පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුර | ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|---|---|
| 01. | පෘථිවිය | 21. | රාෂ්ට්‍රීය |
| 02. | කැස්පියන් | 22. | යැංට්සිකියැං/ යැංට්සි |
| 03. | ජල චක්‍රය | 23. | එක (01) |
| 04. | පැසිපික් | 24. | නිරිත දිග |
| 05. | 2.78% | 25. | හෙමටයිට් |
| 06. | ප්‍රේරීස් | 26. | නුවරඑළිය |
| 07. | කුකුළුගල | 27. | කර්මාන්ත |
| 08. | යාපනය | 28. | සේවා |
| 09. | යපස් | 29. | කර්මාන්ත |
| 10. | දියමන්ති | 30. | සේවා |
| 11. | නි | 31. | 02 |
| 12. | නි | 32. | 02 |
| 13. | වැ | 33. | 03 |
| 14. | නි | 34. | 02 |
| 15. | නි | 35. | 02 |
| 16. | නි | 36. | 02 |
| 17. | වැ | 37. | 04 |
| 18. | නි | 38. | 02 |
| 19. | වැ | 39. | 1/2 |
| 20. | නි | 40. | 02 |

**නිවැරදි එක් පිළිතුරකට ලකුණු 01 බැගින් මුළු ලකුණු 40කි.**

**I පත්‍රය සඳහා අවසන් ලකුණු = 40**

### 2.1.4 I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ - විෂය ක්ෂේත්‍ර අනුව




| විෂය ක්ෂේත්‍ර | ප්‍රශ්න සංඛ්‍යාව | පහසුතාව වැඩිම ප්‍රශ්න අංකය හා එහි පහසුතාව | පහසුතාව අඩුම ප්‍රශ්න අංකය හා එහි පහසුතාව |
|---|---|---|---|
| භෞතික භූගෝල විද්‍යාව | 19 | 1 (90%) | 22 (11%) |
| මානව භූගෝල විද්‍යාව | 15 | 11 (85%) | 35 (27%) |
| ප්‍රායෝගික භූගෝල විද්‍යාව | 06 | 27 (89%) | 33 (23%) |




පළමු ප්‍රශ්න පත්‍රය සඳහා භෞතික භූගෝල විද්‍යාවෙන් ප්‍රශ්න 19ක් ද, මානුෂ භූගෝල විද්‍යාවෙන් ප්‍රශ්න 15ක් ද, ප්‍රයෝගික භූගෝල විද්‍යාවෙන් ප්‍රශ්න 06ක් ද, ඇතුළත් කළ යුතුය.

භෞතික භූගෝල විද්‍යා කොටසෙහි සමස්ත පහසුතාව 52% කි. මානුෂ භූගෝල විද්‍යා කොටසෙහි සමස්ත පහසුතාව 58% කි. ප්‍රයෝගික භූගෝල විද්‍යාව කොටසෙහි සමස්ත පහසුතාව 65% කි. සියලු ම කොටස්වල සමස්ත පහසුතාව 50% වැඩි වුවද ඒ ඒ කොටස්වල පහසුතාවයේ වෙනස්කම් දැකිය හැක. වඩාත්ම පහසුවී ඇත්තේ ප්‍රායෝගික භූගෝල විද්‍යා කොටසයි. එයට හේතු වී ඇත්තේ භූ ලක්ෂණ සිතියම් හා ප්‍රස්තාර පිළිබඳව සිසුන්ගේ සාධන මට්ටම් ඉහළ මට්ටමක පැවතීමයි. අඩු පහසුතාවක් දක්වා ඇත්තේ භෞතික භූගෝල විද්‍යා කොටසෙහි ප්‍රශ්න 19න් ප්‍රශ්න 8ක් ම 50% කට අඩු පහසුතාවයක් දක්වා ඇත. එයට හේතු වී ඇත්තේ ලෝකයේ භෞතික කරුණු පිළිබඳ අවබෝධය දුර්වල වීමයි. විශේෂයෙන් භූ විෂමතාවය, ඛනිජ සම්පත් ආදියේ ස්ථානීය පිහිටීම හා ව්‍යාප්තිය පිළිබඳ දැනුම දුර්වල මට්ටමක පවතී. මේ සඳහා සිතියම් ලකුණු කිරීම වැනි ප්‍රායෝගික අභ්‍යාසවල නිරත කරවීම සුදුසු ය. විෂය කරුණුවලට අදාළ ප්‍රශ්න පාරිභාෂිත වචන, විෂය සංකල්ප පිළිබඳ අර්ථ නිරූපණය ප්‍රශ්න නිවැරදිව තේරුම් ගැනීම වැනි කරුණු පිළිබඳව සිසුන්ගේ අවධානය යොමු කළ යුතුය.

### 2.1.5. I පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :

2013 භූගෝල විද්‍යාව I ප්‍රශ්න පත්‍රය සකස් කිරීමේදී ප්‍රායෝගික භූගෝල විද්‍යාව කොටසින් ප්‍රශ්න 6ක් ද, භෞතික භූගෝල විද්‍යාව කොටසින් ප්‍රශ්න 19ක් ද, මානව භූගෝල විද්‍යාව කොටසින් ප්‍රශ්න 15ක් ද ඇතුළත් වන පරිදි සැකසී ඇත.

ප්‍රායෝගික භූගෝල විද්‍යාව යටතේ ප්‍රශ්න අංක 23, 27, 28, 29, 30 හා 33 ඇතුළත් වී ඇත. එහිදී 27, 28, 29, 30 යන ප්‍රශ්නවලට ප්‍රස්තාරය ඇසුරින් පිළිතුරු ලිවීම අපේක්ෂා කෙරිණි. 27, 28, 30 යන ප්‍රශ්නවලට 70%ට වැඩි පහසුතා දක්වා ඇත. මෙහිදී ප්‍රස්තාරය කියවා ඒ ඇසුරින් පිළිතුරු ලිවීමට අවස්ථාව ලැබීම නිසා සිසුන්ට පිළිතුරු ලබා දීම පහසු වී ඇත. නමුත් 29 ප්‍රශ්නය සඳහා 57% ක තරමක් අඩු පහසුතාවක් ලබා ගැනීමට හේතු වී ඇත්තේ ප්‍රශ්නය කියවා නිවැරදිව තේරුම් නොගැනීමත් 2008 වර්ෂයට සාපේක්ෂව බලන විට සේවා නියුක්තියෙහි වර්ධනයක් සිදු වී නැති බව සිතිය හැකි අංශය හඳුනා නොගැනීමත් නිසාය. 33 ප්‍රශ්නයට 23% අවම පහසුතාව ඇති අතර 1 : 50,000 භූ ලක්ෂණ සිතියම්වල පරිමාණය පිළිබඳ අවබෝධය අඩුවීම ඊට හේතු වී ඇත. තවදුරටත් ශිෂ්‍ය සාධන මට්ටම වැඩි දියුණු කිරීමට පරිමාණය පිළිබඳ අභ්‍යාසවල යෙදවීම වඩාත් සුදුසු වේ.

මෙම ප්‍රශ්න පත්‍රයේ භෞතික භූගෝල විද්‍යාව යටතට ගැනෙන ප්‍රශ්න වන 1, 2, 3, 4, 5, 6, 7, 9, 10, 16, 17, 20, 21, 22, 24, 25, 31, 32 හා 37 අතරින් 70%ට වැඩි පහසුතාව ලබා ඇත්තේ 1, 3 හා 16 යන ප්‍රශ්න තුන පමණි. මේවා පිළිවෙළින් 90%, 75% හා 80% වේ. 10, 11 ශ්‍රේණිවල මෙන්ම 6, 7, 8 යන පහළ ශ්‍රේණිවලදී ලබා ගත් දැනුම උපකාරී වීම මෙම ප්‍රශ්නවලට වැඩි පහසුතා ලබා ගැනීමට හේතු වී ඇත. මෙහිදී 11% ක් වන අඩුම පහසුතාව 22 වන ප්‍රශ්නයට ලැබී ඇත. මෙම ප්‍රශ්නයට නිවැරදි පිළිතුර වන්නේ යැංසිකියැං ගංගාව වුවද වැඩි දෙනකු පිළිතුරු ලෙස ලියා තිබුණේ හොවැංහෝ ගංගාවයි. මීට හේතුව ආසියාවේ දිගම ගංගාව යැංසිකියැං ගඟ බව ශිෂ්‍ය අවධානයට ලක් නොවීමයි. මෙහිදී 10 ශ්‍රේණියේ පෙළපොතෙහි භෞතික ලක්ෂණ පිළිබඳව දී ඇති වගු සටහන් ආශ්‍රිතව පැවරුම් අභ්‍යාසවල නිරත කරවීමෙන් මේ පිළිබඳ සිසු කුසලතා වර්ධනය කළ හැකිවේ.

මානව භූගෝල විද්‍යාව කොටසට ප්‍රශ්න 15ක් අඩංගු වන අතර 8, 11, 12, 13, 14, 15, 18, 19, 26, 34, 35, 36, 38, 39 හා 40 වේ. මෙයින් පහසුතාව වැඩිම ප්‍රශ්න වන්නේ 11, 12, 13, 19 හා 39 වේ. ඒවා පිළිවෙළින් 85%, 82%, 72%, 70% හා 72% වේ. ලෝකයේ ජනාධිකම රටවල් වැඩි ප්‍රමාණයක් ආසියා මහාද්වීපයේ ඇති බව තහවුරු වූ දැනුමක් තිබීම නිසා 85% වැඩිම පහසුතාව 11 වන ප්‍රශ්නයට ලැබී ඇත. අඩුම පහසුතාව ලැබී ඇත්තේ 35 වන ප්‍රශ්නයයි. එය 27% කි. පෙළපොතෙහි දක්වා ඇති කරුණු අධ්‍යයනය කිරීමෙන් මෙවැනි ප්‍රශ්නවලට පහසුවෙන් පිළිතුරු සැපයීමට හැකිවේ.

කරුණු මතක තබා ගැනීමේ දුර්වලතා, සුවිශේෂී කරුණු පිළිබඳ අවධානය යොමු නොකිරීම, ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේ නිපුණතාව ප්‍රමාණවත් නොවීම, ප්‍රායෝගික අභ්‍යාසවල ප්‍රමාණවත් ලෙස නිරත නොවීම, කාලීන තොරතුරු පිළිබඳ අවධානය පහළ මට්ටමක තිබීම සාධන මට්ටම් අඩුවීමට හේතු වන බැවින් එය මඟ හරවා ගැනීමට කටයුතු කිරීම සුදුසු වේ.

ඉහළ සාධන මට්ටමක් අයදුම්කරුවන්ට ලබා දීම සඳහා ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී සිතියම්, පින්තූර, වගු සටහන් ප්‍රස්තාර භාවිත කිරීම, දැනුම මිනුම තරඟ, ක්ෂේත්‍ර චාරිකා හා අධ්‍යාපන චාරිකාවල යෙදවීම වඩාත් සුදුසු වේ. මීට අමතරව ප්‍රශ්න හා පිළිතුරු ඇතුළත් පොත් සකස් කරවීම, ක්ෂේත්‍ර පොත් සකස් කරවීම වැනි ක්‍රියාකාරී වැඩසටහන් සංවිධානය කිරීම ද සුදුසු වේ.

## 2.2 II පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.2.1 II පත්‍රයේ ව්‍යුහය

**මුළු ලකුණු 60යි.**

II පත්‍රය, I කොටස, II කොටස හා III කොටස ලෙස ප්‍රධාන කොටස් 3කින් යුක්තය.

**I කොටස**

I වන කොටසේ ප්‍රශ්නය අනිවාර්ය වේ. එහි "අ", "ආ" "ඉ" කොටස් තුනකින් සමන්විත ය. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 20ක් හිමිය. මෙහි (අ) කොටසට අයත් වන්නේ ශ්‍රී ලංකාවේ 1 : 50 000 භූ ලක්ෂණ සිතියම් කොටස අධ්‍යයනය කොට ඒ ඇසුරින් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමයි. ඒ සඳහා ලකුණු 10ක් හිමිවේ. (ආ) කොටසට අයත් වන්නේ නිවැරදි සිතියම් විද්‍යාත්මක ක්‍රම භාවිත කරමින් ලෝකයේ තෝරාගත් ස්ථාන 5ක් සපයන ලද ලෝක ආකෘති සිතියමක ලකුණු කර නම් කිරීමයි. මේ සඳහා ලකුණු 5ක් හිමිවේ. (ඉ) කොටසට අයත් වන්නේ නිවැරදි සිතියම් විද්‍යාත්මක ක්‍රම භාවිත කරමින් ශ්‍රී ලංකාවේ තෝරාගත් ස්ථාන 5ක් සපයන ලද ශ්‍රී ලංකා ආකෘති සිතියමක ලකුණු කර නම් කිරීමයි. මේ සඳහා ලකුණු 5ක් හිමිවේ.

**II කොටස**

මෙම කොටස ලෝකයේ භෞතික හා මානව තොරතුරුවලට අදාළව ව්‍යුහගත වර්ගයේ ප්‍රශ්න 4කින් යුක්ත වන අතර ඉන් දෙකකට පිළිතුරු සැපයිය යුතුය. ප්‍රශ්නයකට ලකුණු 10 බැගින් මුළු ලකුණු 20ක් හිමිවේ.

**III කොටස**

මෙම කොටස ශ්‍රී ලංකාවේ භෞතික හා මානව තොරතුරුවලට අදාළව ව්‍යුහගත වර්ගයේ ප්‍රශ්න 4කින් යුක්ත වන අතර ඉන් දෙකකට පිළිතුරු සැපයිය යුතුය. ප්‍රශ්නයකට ලකුණු 10 බැගින් මුළු ලකුණු 20ක් හිමිවේ.

| | | |
|---|---|---|
| I කොටසට ලකුණු | = | 20 |
| II කොටසට ලකුණු | = | 20 |
| III කොටසට ලකුණු | = | 20 |
| II පත්‍රයේ ලකුණු | = | 60 |

**අවසාන ලකුණු ගණනය කිරීම**

| | | |
|---|---|---|
| I පත්‍රය ලකුණු | = | 40 |
| II පත්‍රය ලකුණු | = | 60 |
| අවසාන ලකුණු | = | 100 |

2.2.2. **II** ප්‍රශ්න පත්‍රය, අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා යෝජනා

| |
|---|
| ★ **II** පත්‍රය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ ප්‍රස්තාර අංක 2, 3, 4.1 හා 4.2 ඇසුරින් ඉදිරිපත් කර ඇත. ප්‍රශ්නයට අදාළ ප්‍රස්තාර කොටස ඒ ඒ ප්‍රශ්නයේ නිරීක්ෂණ හා නිගමන සමඟ දක්වා ඇත. |

1 ප්‍රශ්නය

## I කොටස

අපේක්ෂණය : දත්ත හා තොරතුරු විශ්ලේෂණය කිරීම අර්ථ නිරූපණය හා ඉදිරිපත් කිරීම සඳහා භූගෝල විද්‍යාත්මක ක්‍රම ශිල්ප භාවිත කරයි.

**1.** (අ) ඔබ වෙත සපයා ඇති 1:50 000 භූ ලක්ෂණ සිතියම් කොටස අධ්‍යයනය කොට ඒ ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. පිළිතුරු දීම සඳහා ඔබ වෙත සපයා ඇති කඩදාසිය (පිටු අංක 8) යොදා ගන්න.
අංක (i) සිට (v) දක්වා ඇති ප්‍රශ්නවලට පිළිතුරු වරහන් තුළින් තෝරා ලියන්න

(i) සිතියමෙහි AB රේඛාවෙන් දැක්වෙන භූ ලක්ෂණය කුමක් ද?
(තෙරුව / නිම්නය / දිය බෙත්ම) *(ලකුණු 01 යි)*

(ii) සිතියමෙහි CD රේඛාවෙන් දක්වා ඇත්තේ කුමක් ද?
(දළ බෑවුම / අවතල බෑවුම / උත්තල බෑවුම) *(ලකුණු 01 යි)*

(iii) E අක්ෂරයෙන් දක්වා ඇත්තේ කුමක් ද?
(වැලිබිම / රබර් වගාව / වෙනත් වගා) *(ලකුණු 01 යි)*

(iv) F අක්ෂරයෙන් දක්වා ඇත්තේ කුමක් ද?
(හේන / පාෂාණ උද්ගතය / රක්ෂිත මායිම) *(ලකුණු 01 යි)*

(v) G සිට H දක්වා විහිදෙන කඩ ඉර මගින් දක්වා ඇත්තේ කුමක් ද?
(දිය බෙත්ම / අඩිපාර / උමග) *(ලකුණු 01 යි)*

(vi) සිතියම් ප්‍රදේශය පිළිබඳ ප්‍රකාශ තුනක් පහත a, b හා c යටතේ දක්වා ඇත. ඒ එක් එක් ප්‍රකාශය කියවා බලා නිවැරදි නම් 'හි' යන්න ද වැරදි නම් 'වැ' යන්න ද පිළිතුරු පත්‍රයේ ඊට නියමිත ස්ථානයේ ලියා දක්වන්න.
a - ප්‍රදේශයේ බහුලව ව්‍යාප්ත වී ඇත්තේ තේ වගාවයි. *(ලකුණු 01 යි)*
b - ප්‍රදේශයේ වී වගා බිම්වලින් වැඩි කොටසක් හෙල්මලු ක්‍රමයට වගා කර ඇත. *(ලකුණු 01 යි)*
c - සිතියම් ප්‍රදේශයේ නැගෙනහිර අර්ධයෙහි බටහිර අර්ධයට වඩා වැඩි ජන සංඛ්‍යාවක් වාසය කරන බව පෙනේ. *(ලකුණු 01 යි)*

(vii) සමස්තයක් ලෙස සලකන විට ප්‍රදේශයේ ජලවහන රටාව කුමක් ද? *(ලකුණු 01 යි)*

(viii) සිතියමෙහි J, K, L අක්ෂරවලින් දක්වා කොටුකර ඇති ප්‍රදේශ තුන අතුරින් ආගමික වශයෙන් වැඩි ම විවිධත්වයක් දක්නට ඇත්තේ කවර අක්ෂරය දරණ කොටුවට අයත් ප්‍රදේශය තුළ ද? *(ලකුණු 01 යි)*

(ආ) නිවැරදි සිතියම් විද්‍යාත්මක ශිල්පීය ක්‍රම භාවිත කොට පහත අංක (i) සිට (v) දක්වා දී ඇති දෑ සපයා ඇති ලෝක ආකෘති සිතියමෙහි (පිටු අංක 9) **ලකුණු කර නම් කරන්න.**
(i) මිසිසිපි ගංගාව
(ii) කොකේසස් කඳු වැටිය
(iii) අයිබීරියන් අර්ධද්වීපය
(iv) පැපුවා-නිව්ගිනියා දූපත
(v) බුවනෝර්ස්-අයර්ස් නගරය *(ලකුණු 05 යි)*

(ඉ) නිවැරදි සිතියම් විද්‍යාත්මක ශිල්පීය ක්‍රම භාවිත කොට පහත අංක (i) සිට (v) දක්වා දී ඇති දෑ සපයා ඇති ශ්‍රී ලංකා ආකෘති සිතියමෙහි (පිටු අංක 9) **ලකුණු කර නම් කරන්න.**
(i) හැටන් සානුව
(ii) නකල්ස් වැටිය
(iii) දික්ඕවිට ධීවර වරාය
(iv) අලිමංකඩ
(v) එප්පාවල *(ලකුණු 05 යි)*



SCALE 1: 50 000

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

## 1 ප්‍රශ්නය

| | | | |
|---|---|---|---|
| (1) (අ) | (i) | නිම්නය | (ලකුණු 01) |
| | (ii) | අවතල බෑවුම | (ලකුණු 01) |
| | (iii) | වෙනත් වගා | (ලකුණු 01) |
| | (iv) | රක්ෂිත මායිම | (ලකුණු 01) |
| | (v) | අඩිපාර | (ලකුණු 01) |
| | (vi) (a) | නි | (ලකුණු 01) |
| | (b) | නි | (ලකුණු 01) |
| | (c) | වැ | (ලකුණු 01) |
| | (vii) | ශාඛික/ ශාඛීය | (ලකුණු 01) |
| | (viii) | L | (ලකුණු 01) |

(ආ)




(ලකුණු 05)

(ඉ)




(ලකුණු 05)

1 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නයට පිළිතුරු සැපයීම අනිවාර්ය වුවත් ඊට පිළිතුරු සපයා ඇත්තේ 99%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 20ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 05 ප්‍රාන්තරයේ 33%ක් ද,
ලකුණු 06 - 10 ප්‍රාන්තරයේ 52%ක් ද,
ලකුණු 11 - 15 ප්‍රාන්තරයේ 13%ක් ද,
ලකුණු 16 - 20 ප්‍රාන්තරයේ 2%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 16 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 2%ක් වන අතර 34%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 05 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අනුකොටස් 20ක් ඇති අතර ඉන් අනුකොටස් 2ක පහසුතාව 70%කට වැඩිය. පහසුතාව වැඩිම අනු කොටස (ආ) (vi) (a) වන අතර එහි පහසුතාව 74%කි. එසේම පහසුතාව අඩුම අනුකොටස වන්නේ (ආ) (iii) ය. එහි පහසුතාව 5%කි.

මෙම ප්‍රශ්නයෙන් අපේක්ෂා කරනුයේ දත්ත තොරතුරු විශ්ලේෂණය කිරීම, අර්ථ නිරූපණය හා ඉදිරිපත් කිරීම සඳහා භූගෝල විද්‍යාත්මක ක්‍රම ශිල්ප භාවිත කිරීමයි. I වන ප්‍රශ්නයෙහි (අ), (ආ), (ඉ) 3ට අයත් අනුකොටස් 20ක් ඇති අතර ඒවා අතුරෙන් වැඩිම පහසුතා දක්වා ඇත්තේ (අ) කොටසේ (iii), (iv), (v), (vi) (a), (b), (c) කොටස් හා අනුකොටස් සඳහා ය. එය 63% සිට 74% දක්වා විසිරී ඇත. මෙම කොටස් හා අනුකොටස් සම්මත සළකුණු හඳුනා ගැනීම ඇසුරින් ප්‍රශ්න සැකසී ඇති අතර ඒ පිළිබඳ මැනවින් වටහාගෙන තිබීම වැඩි පහසුතා දැක්වීමට හේතු වී ඇත. පෙළපොතේ ඇති සිතියම් අභ්‍යාස නිරන්තරයෙන් කරවීම මගින් සාධනය තවදුරටත් වර්ධනය කළ හැකිවේ.

(අ) කොටසේ අවම පහසුතාව (vii) අනුකොටසට ලැබී ඇති අතර එය 24%ක් වේ. 1 : 50,000 භූ ලක්ෂණ සිතියම්වල ජලවහන රටා නිරවුල්ව හඳුනා ගැනීමට හා ජලවහන රටාවන් පිළිබඳ අවධානය අඩුවීම නිසා අවම පහසුතාවක් ලබා ඇත. ත්‍රිමාණ භූ රූප නිර්මාණය කිරීම තුළින් ජල වහන රටා පිළිබඳ සංකල්ප අවබෝධ කිරීමෙන් ශිෂ්‍ය සාධන මට්ටම වැඩි දියුණු කළ හැකිවේ.

(ආ) කොටසේ සෑම අනුකොටසකටම අඩු පහසුතා ලබා ඇත. එය පිළිවෙළින් 24%, 7%, 5%, 28%, 12% යන ප්‍රතිශත ලබා ඇත. මෙහිදී (අ) (iv) අනුකොටසෙන් අසා ඇති පැපුවානිව්ගිනියා දූපත ලකුණු කිරීමට සිසුන් තරමක කුසලතාවක් දක්වා ඇතත් එය ද 28%ක් වැනි අඩු අගයකි.

පැපුවානිව්ගිනියා දූපත ඕස්ට්‍රේලියාවට පැමිණෙන අනවසර සංක්‍රමණිකයන් රඳවන ස්ථානයක් ලෙසට ජනමාධ්‍ය මගින් ඉස්මතු කර තිබීම මෙම කුසලතාවට හේතු වී ඇත. මෙම කොටසේ අඩුම පහසුතා වන්නේ (ආ) (iii) අනුකොටස ය. මෙහිදී අර්ධද්වීපයක් ලෙස අයිබීරියන් අර්ධද්වීපය පිළිබඳව සිසුන් තුළ ඇති නොදැනුවත් බව අඩු පහසුතාවට හේතු වී ඇත. එම කොටසේ පහසුතාව 5%කි. (ඉ) කොටසේ සෑම අනුකොටසකම පහසුතා 30%ට අඩුවේ. අඩුම පහසුතාව 7%ක් වන දික්ඕවිට වරාය ලකුණු කිරීමයි. මෙය මෑතකදී සකස් කරන ලද ධීවර වරායක් වන අතර එය ශ්‍රී ලංකාවේ විශාලම ධීවර වරාය ද වන බව සිසුන් දැනුවත්ව නොසිටීම මීට හේතු වී ඇත. ඒ නිසා මෙම වරාය පිළිබඳව සිසුන් දැනුවත් කිරීම අවශ්‍යව ඇත.

සිසු කුසලතා දියුණු කිරීමට 1 : 50000 භූ ලක්ෂණ සිතියම් කොටස් අභ්‍යාස වශයෙන් කරවීම, භූ ලක්ෂණ සම්මත සළකුණු වර්ණ හා සංකේත පිළිබඳ අවබෝධය සිතියම් භාවිතය ඇසුරින් ලබාදීම, සිතියම් විද්‍යාත්මක ක්‍රම භාවිතයෙන් සිතියම් ලකුණු කර නම් කරවීම, භූගෝල විද්‍යාවට අදාළ පාඩම් සංවර්ධනයේදී ශ්‍රී ලංකාව හා ලෝක බිත්ති සිතියම් ඉගෙනුම් ආධාරක ලෙස භාවිතයට ගැනීම හා පාසලේ භූගෝල විද්‍යා විෂය කාමරයක් සකස් කර ගැනීමටත් ඒ තුළ සිතියම් ප්‍රදර්ශනය කර සිසුන්ට ඉගෙනුම් අවස්ථා ලබා දීම සුදුසු වේ.

# II කොටස

## 2 ප්‍රශ්නය

**අපේක්ෂණය : පෘථිවියේ සංයුතිය හා එහි ගතික ස්වභාවය පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම**

2. යාබද රූප සටහනෙහි අංක 1,2,3 හා 4 න් දක්වා ඇත්තේ පෘථිවි වායුගෝලය බෙදා ඇති ස්ථර හතරයි.
   (i) මෙම රූප සටහනට අනුව
      (a) පරිවර්තීගෝලය දැක්වෙන අංකය කුමක් ද?
      (b) අපරිවර්තීගෝලය දැක්වෙන අංකය කුමක් ද? *(ලකුණු 02 යි)*
   (ii) (a) පරිවර්තීගෝලයෙහි විශේෂ ලක්ෂණ **දෙකක්** සඳහන් කරන්න.
      (b) අපරිවර්තීගෝලය මිනිසාට වැදගත්වීමට විශේෂ හේතුවක් සඳහන් කරන්න. *(ලකුණු 03 යි)*
   (iii) (a) ජෛවගෝලයේ සීමා මොනවාදැයි කෙටියෙන් සඳහන් කරන්න.
      (b) ජෛවගෝලයේ සමතුලිතතාව බිඳ වැටීම කෙරෙහි මිනිසාගෙන් එල්ලවන අහිතකර බලපෑම් නිදසුන් **දෙකක්** ඇසුරින් පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*




**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(2) (i) (a) පරිවර්තී ගෝලය - අංක 04
(b) අපරිවර්තී ගෝලය - අංක 03

**(ලකුණු 1 + 1 = 02)**

(ii )(a) පරිවර්තී ගෝලයෙහි විශේෂ ලක්ෂණ

- ★ වායුගෝලයේ අන්තර්ගත වායු වර්ග වලින් වැඩි කොටසක් හා වායු පරිමාවෙන් වැඩි කොටසක් මෙයට අයත් වේ.
- ★ සමකය ආසන්නයේ දී කි.මී. 17 ක් පමණ දක්වා ද ධ්‍රැවාසන්නයේ දී කි.මී. 08ක් පමණ දක්වා ද ඉහලට විහිදේ.
- ★ පරිවර්තී ගෝලය තුළදී උන්නතාංශය අනුව උෂ්ණත්වය අඩුවීම (සාමාන්‍ය පතන සීඝ්‍රතාව හට ගැනීම)
- ★ උෂ්ණත්වය, පීඩනය, සුළං, ආර්ද්‍රතාව, වලාකුළු වර්ධනය වැනි සියළුම වායුගෝලීය සංසිද්ධි හටගන්නා කලාපය වීම.
- ★ වැඩිම ආර්ද්‍රතාවක් හා පීඩනයක් ඇති කලාපයයි.
- ★ ජෛව ගෝලයේ ක්‍රියාකාරිත්වයට වැදගත් වේ.

මෙවැනි ලක්ෂණ දෙකක් සඳහන් කර තිබිය යුතුය.

(b) අපරිවර්තී ගෝලය මිනිසාට වැදගත්වීමට විශේෂ හේතුව :

- ★ සූර්යයාගෙන් පොළව තලයට එන මිනිස් සිරුරට අහිතකර පාර ජම්බූල කිරණ උරා ගන්නා “ඕසෝන්” වායු ස්ථරය මෙම අපරිවර්තී ගෝලය තුළ පිහිටා තිබීම යන කරුණ සඳහන් කර තිබිය යුතුය.

**III (ලකුණු (a) 2 + (b) 1 = 03)**

(iii )(a) ජෛව ගෝලයේ සීමා

- ★ ශිලාගෝලය - ශාකයක මුල් විහිදෙන හා බැක්ටීරියා ක්‍රියාකාරිත්වය සිදුවන කොටස
- ★ ජලගෝලය - ප්‍රභා සංශ්ලේෂණය සඳහා, හිරු එළිය ලැබෙන සීමාව.
- ★ වායුගෝලය - ජීවීන්ගේ පැවැත්මට අවශ්‍ය වාතය සහිත උපරිම මට්ටම

ජෛව ගෝලයේ සීමා තුනම සඳහන් කර තිබිය යුතුය.

(b) ජෛව ගෝලයේ සමතුලිතතාව බිඳවැටීම කෙරෙහි මිනිසාගෙන් එල්ල වන අහිතකර බලපෑම්

- ★ මිනිස් අවශ්‍යතා සඳහා සැලසුමකින් තොරව ජෛව ගෝලීය සංරචක පරිහරණය කිරීම තුළින් ජෛව ගෝලයේ සමතුලිතතාව බිඳ වැටෙන ආකාරය නිදසුන් දෙකක් දක්වමින් විස්තර කිරීම.
- ★ වනාන්තර විනාශය නිසා පස සේදී යාම. පස නිසරුවීම.
- ★ ජලයට අපද්‍රව්‍ය හා රසායනික ද්‍රව්‍ය මුසුවීම නිසා ජලජ ජීවීන් විනාශ වීම. (හික්කඩුවේ කොරල් පර)
- ★ කෘෂිකාර්මික කටයුතු සඳහා පස සකස් කිරීම හා කෘමි නාශක හා වල් නාශක භාවිතය නිසා පසේ සංයුතිය වෙනස් වීම හා පාංශු ජීවීන් වඳවීම
- ★ වායු දූෂණය නිසා ජෛව පද්ධති විනාශවීම (හෝර්ටන් තැන්නේ වනාන්තර විනාශවීම)
- ★ කොරල් පර කැඩීම නිසා මුහුදු ජීවීන්ගේ පැවැත්මට බාධා සිදුවීම, වෙරළ ඛාදනය
- ★ කාබන් චක්‍රය, නයිට්‍රජන් චක්‍රය හා ඔක්සිජන් චක්‍රය යන ජෛව රසායන චක්‍රවලට බාධා සිදුවීම.

මෙවැනි කරුණු ඇසුරෙන් මිනිස් ක්‍රියාකාරකම් මගින් ජෛව ගොලයේ සමතුලිතතාව බිඳවැටෙන අයුරු නිදසුන් දෙකක් දක්වමින් විස්තර කර තිබිය යුතුය.

**(a)** **ජෛව ගෝලයේ සීමා තුනම සඳහන් කිරීමට =** 01
**(b)** කරුණු දෙකට - 02 යි. විස්තරයට - 02 යි = 04

**III (ලකුණු (a)** 1 + **(b)** 4 = 05)

2 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නයට පිළිතුරු සපයා ඇති ප්‍රමාණය වන්නේ 78%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 18%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 27%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 19%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 36%ක් ද,

ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 36%ක් වන අතර 18%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 06 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) හි (a) වන අතර එහි පහසුතාව 73%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii) (a) ය. එහි පහසුතාව 36%කි.

පෘථිවියේ සංයුතිය හා එහි ගතික ස්වභාවය පිළිබඳව වායුගෝලය හා ජෛව ගෝලය ඇසුරින් සකස් වී ඇති මෙම ප්‍රශ්නය තෝරාගෙන ඇති සංඛ්‍යාව 78% කි. මෙහි වැඩි පහසුතා පෙන්වා ඇත්තේ (i) කොටස (a) හා (b) සඳහා ය. ඒවා පහසුතා පිළිවෙළින් 73%ක් 70%ක් වේ. මෙහිදී රූප සටහන දී තිබුණු අතර එයින් ද පෘථිවියට ආසන්න ස්ථර දෙක පිළිබඳව අසා තිබීම නිසා සිසුන්ට වඩාත් පහසු වී ඇත.

(iii) හි (a) අනුකොටසට අඩුම පහසුතාව දක්වා ඇති අතර එය 36% කි. මෙහිදී ජෛව ගෝලයේ සීමාවන් අවබෝධයෙන් තොරව වෙන වෙනම මතක තබා ගැනීමට උත්සාහ දැරීම නිසා සිසුන්ගේ පහසුතාව අඩු වී ඇත. එම නිසා එම සීමාවන් පිළිබඳව තර්කානුකූලව මතක තබා ගැනීමට මඟ පෙන්වීම තුළින් ශිෂ්‍ය සාධනය වැඩි කළ හැකිය.

ජෛව ගෝලයේ සමතුලිතතාව බිඳ වැටීම පිළිබඳව අසා ඇති (iii) හි (b) ප්‍රශ්නයට පහසුතාව 62% ක් වේ. මිනිස් ක්‍රියාකාරකම් හා ඒ නිසා ඇති වන අහිතකර බලපෑම් පිළිබඳව සිසුන්ට පරිසරයෙන් ඉගෙනීමට අවස්ථාව ලැබෙන නිසා මෙම කොටසට වැඩි පහසුතා දක්වා ඇත.

මෙම විෂය කොටස් පහසුකර ගැනීම සඳහා ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී දෘෂ්‍යාධාර භාවිතය, ගවේෂණයට යොමු කරවීම, වාද විවාද පැවැත්වීම, විවිධ නිර්මාණ කරවීම ආදිය යොදාගත හැකිය. පරිසරය හා සම්බන්ධ විශේෂ ජාත්‍යන්තර දින සැමරීම සඳහා විවිධ වැඩසටහන් ආදිය ද ක්‍රියාත්මක කළ හැකිය.

## 3 ප්‍රශ්නය

**අපේක්ෂණය :** **පෘථිවියේ ප්‍රධාන භෞතික ලක්ෂණවල විවිධත්වය, ව්‍යාප්තිය හා මිනිස් කටයුතු කෙරෙහි ඒවායේ බලපෑම පිළිබඳ විශ්ලේෂණාත්මක අවබෝධය පිරික්සීම**

3. පෘථිවියේ භෞතික ලක්ෂණ අතර කඳුවැටි ප්‍රධාන තැනක් ගනී. පෘථිවි අභ්‍යන්තරයේ හට ගන්නා බලවේග මෙන් ම බාහිර බලවේග මගින් ද නිර්මාණය වන කඳුවැටි මිනිස් කටයුතු කෙරෙහි ද විශාල බලපෑමක් ඇති කරයි.
   (i) (a) ආසියාවේ ප්‍රධාන කඳුවැටියක් හා
   (b) උතුරු අමෙරිකාවේ ප්‍රධාන කඳුවැටියක් ද පිළිවෙළින් නම් කරන්න. *(ලකුණු 02 යි)*
   (ii) (a) දිගු කලක් තිස්සේ නොගැඹුරු මුහුදු ප්‍රදේශවල අවසාදිත තැන්පත්ව තිබී පසුව ඇතිවූ සම්පීඩන බලවේග නිසා එකිනෙකට තෙරපී උත්ක්ෂිප්ත වීමෙන් හටගන්නා කඳු හැඳින්වෙන්නේ කවර නමකින් ද?
   (b) යම්කිසි භූමි ප්‍රදේශයක් දිගු කලක් තිස්සේ නග්නීකරණ ක්‍රියාවලියට ගොදුරුවීමෙන් මතුපිට මෘදු පාෂාණ කොටස් ඉවත්ව තද පාෂාණ කොටස් ඉතිරිවීම නිසා නිර්මාණය වන කඳු හැඳින්වෙන්නේ කවර නමකින් ද?
   (c) සම මුදුනකින් හෝ ආසන්න සමතාවයෙන් යුත් මුදුන් සහිත, කඳුවලින් වට වූ උස් සම බිමක් හඳුන්වන්නේ කවර නමකින් ද? *(ලකුණු 03 යි)*
   (iii) මිනිස් කටයුතු හැඩගැස්වීමෙහිලා කඳුවැටි බලපාන ආකාර නිදසුන් **තුනක්** දක්වමින් පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(3) (i) (a) හිමාලය, හින්දුකුෂ්, සුලෙයිමාන්, ටියෙන් ෂාන්, අල්තායි, කුන්ලූන් ෂාන්, ඇරකන්යෝමා, සාටස් - මෙවැනි කඳු වැටියක් නම් කිරීම.
(b) රොකී, සියරා නෙවාඩා, සියරා මැඩ්රි, ඇපලාචියන් - මෙවැනි කඳු වැටියක් නම් කිරීම.

**I** (ලකුණු **(a)** 1 + **(b)** 1 = 02)

(ii) (a) නැමි කඳු
(b) ශේෂ කඳු /මොනඩ් නොක්ස්
(c) සානුව

**II** (ලකුණු **(a)** 1 + **(b)** 1 + **(c)** 1 = 03)

(iii) මිනිස් කටයුතු හැඩගැස්වීමෙහිලා කඳු වැටි බලපාන ආකාරය
- ★ ශීත සුළං හෝ උණුසුම් සුළං වලට බාධකයක් විම
- ★ සතුරන්ට බාධකයක් වීම
- ★ වර්ෂණයට ඇති කරන බලපෑම් - සුළං මුවාව/සුළං මුණත
- ★ ගංගාවල ජල පෝෂක ප්‍රදේශ ලෙස ක්‍රියා කිරීම
- ★ බෝග වගාව හා සත්ව පාලනයට ඇති කරන බලපෑම්
- ★ ජල විදුලිය නිපදවීමට උපකාරී වීම
- ★ දේශගුණික වෙනස්කම් හා දර්ශනීයත්වය මගින් සෞඛ්‍යයට, සංචාරක ව්‍යාපාරයේ ප්‍රවර්ධනයට ඇති කරන බලපෑම්
- ★ සංචාරක කර්මාන්තයට වූ බලපෑම
- ★ විශේෂිත වගාවන් සඳහා යොදා ගැනීම

**මෙවැනි කරුණු තුනක් නිදසුන් සහිතව විස්තර කිරීම**

**III ලකුණු** කරුණු තුනට - 03
විස්තරයට - 02
05

3 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නයට පිළිතුරු සපයා ඇති ප්‍රමාණය වන්නේ 27%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 34%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 27%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 15%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 24%ක් ද,

ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 24%ක් වන අතර 34%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 6 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) හි (a) වන අතර එහි පහසුතාව 64%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii) ය. එහි පහසුතාව 39%කි.

පෘථිවියේ ප්‍රධාන භෞතික ලක්ෂණයක් වන කඳුවැටිවල විවිධත්වය, ව්‍යාප්තිය හා මිනිස් කටයුතු කෙරෙහි බලපෑම පිළිබඳ විශ්ලේෂණාත්මක අවබෝධය පිරික්සීම සඳහා සකසා ඇත. II පත්‍රයේ සියලුම ප්‍රශ්නවලින් අවම තෝරා ගැනීම මෙම ප්‍රශ්නය වන අතර එය 27%කි.

මෙහි වැඩිම පහසුතාව දක්වා ඇත්තේ (i) හි (*a*) අනුකොටසට වන අතර එය 64% කි. ආසියාවේ ප්‍රධාන කඳුවැටියක් නම් කිරීමට තිබූ අතර එයින් වැඩිම අපේක්ෂකයින් පිරිසක් ලකුණු ලබාගෙන ඇත්තේ හිමාලය කඳුවැටිය නම් කිරීමෙනි. පහළ ශ්‍රේණිවල ඉතිහාසය, සිංහල, බුද්ධ ධර්මය හා හින්දු ධර්මය වැනි විෂයන්වලදී හිමාලය කඳුවැටිය අවධානයට ලක් වීම පහසුතාව ඉහළ යාමට හේතු වී ඇත. එම නිසා ලෝකයේ ප්‍රධාන කඳුවැටි හඳුනා ගැනීම, නම් කිරීම හා නිවැරදිව ලකුණු කිරීමට සිසුන් යොමු කරවීම තුළින් තවදුරටත් සාධන මට්ටම වැඩි දියුණු කළ හැකිය.

පහසුතාව අඩුම මට්ටමක පවතින්නේ (iii) කොටස වන අතර එය 39% කි. භෞතික භූ දර්ශනය හා මිනිස් කටයුතු අතර පවතින සබඳතාව විශ්ලේෂණය කිරීමේ හැකියාව අඩුවීම මෙම දුර්වලතාවට හේතු වී ඇත.

භූ ලක්ෂණ හා මානව ක්‍රියාකාරකම් අතර සම්බන්ධතාව ඉස්මතු වන අයුරින් ක්ෂේත්‍ර චාරිකා, ගවේෂණ කටයුතු සංවිධානය කිරීමට යොමු කරවීම තුළින් ඉහළ සාධන මට්ටමක් ළඟාකර ගත හැකිය.

## 4 ප්‍රශ්නය

**අපේක්ෂණය : ලෝකයේ කෘෂිකාර්මික භූමි පාරිභෝග වර්ගවල ව්‍යාප්තිය, ප්‍රවණතා හා ගැටළු පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම.**

4. අතීතයේ සිට ම මූලික ආර්ථික කටයුත්තක් වූ කෘෂිකර්මය වර්තමානයේ විවිධ භෞතික හා මානව සාධකවල බලපෑම මත සංකීර්ණ ක්‍රියාවලියක් ලෙස භූමි පරිභෝග වර්ග ගණනාවක් යටතේ ලොව පුරා ව්‍යාප්තව ඇත.




(i) ඉහත ලෝක සිතියමෙහි **A** හා **B** අක්ෂරවලින් දක්වා ඇති කෘෂිකාර්මික භූමි පරිභෝග වර්ග **දෙක** මොනවාදැයි පිළිවෙළින් නම් කරන්න. *(ලකුණු 02 යි)*

(ii) (a) ලෝකයේ තිරිඟු වගාව සම්බන්ධ නව ප්‍රවණතාවක් සඳහන් කරන්න.

(b) අන්තර් ජාතික වෙළෙඳාමේදී තිරිඟු වැදගත් වීමට හේතු **දෙකක්** සඳහන් කරන්න. *(ලකුණු 03 යි)*

(iii) (a) ලෝකයේ සියුම් පාරිභෝගික කෘෂිකර්මය යටතේ කෙරෙන වී වගාව හා සම්බන්ධ නව ප්‍රවණතා **දෙකක්** සඳහන් කරන්න.

(b) සියුම් පාරිභෝගික කෘෂිකර්මය යටතේ කෙරෙන වී වගාව සම්බන්ධයෙන් පැන නැගී ඇති ගැටලු **දෙකක්** විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(4) (i) A - මධ්‍යධරණී කෘෂිකර්මය

B - වතු කෘෂිකර්මය

**I (ලකුණු (a) 1 + (b) 1 = 02)**

(ii) ලෝකයේ තිරිඟු වගාව සම්බන්ධ නව ප්‍රවණතා

(a)
- ★ යාන්ත්‍රිකරණය වැඩිවීම
- ★ යොදවන මිනිස් ශ්‍රමය අඩුවීම
- ★ ගොවිබිම්වල විශාලත්වය වැඩිවීම
- ★ තිරිඟු වගාබිම් විවිධාංගීකරණය (නිදඃ තිරිඟු බිම්වල සත්ව පාලනය ද කිරීම)
- ★ පොහොර හා කෘමිනාශක භාවිතය වැඩිවීම
- ★ ඉඩම් ඒකකයකින් ලැබෙන අස්වැන්න වැඩිවීම
- ★ කර්මාන්ත හා ජනාවාස සඳහා ඉඩම් ලබා ගැනීමේ අවශ්‍යතාව නිසා වගාවට යෙදෙන සමස්ත බිම් ප්‍රමාණය අඩුවෙමින් පැවතීම.
- ★ වැඩි ඵලදායී බීජ වර්ග භාවිතය නිසා ඉහළ අස්වැන්න
- ★ රාජ්‍ය ප්‍රතිපත්ති අනුව නිෂ්පාදනය සීමා කිරීම

මෙවැනි ප්‍රවනතාවක් සඳහන් කිරීම

(b) අන්තර්ජාතික වෙළෙඳාමේ තිරිඟු වැදගත්වීමට හේතු

- ★ ලෝක වෙළෙඳාමට සම්බන්ධ වන ප්‍රධාන ධාන්‍ය ව ගය වීම හා වැඩිපුරම භාවිතා වන ධාන්‍ය වර්ගය වීම
- ★ අනෙකුත් ධාන්‍යවලට වඩා තිරිඟු පිටිවලින් විවිධ ආහාර වර්ග සකස් කළ හැකි වීම
- ★ උත්තරාර්ධ ගෝලයේ අස්වනු නෙළන කාලයත් දක්ෂිණාර්ධ ගෝලයේ අස්වනු නෙළන කාලයත් දෙකක් වීම නිසා වසර පුරාම වෙළෙඳපලට තිරිඟු සැපයිය හැකිවීම
- ★ තිරිඟු වගා කෙරෙන රටවල අඩු ජන සංඛ්‍යාව නිසා ලෝක වෙළෙඳපොලට තිරිඟු වැඩිපුර සැපයිය හැකි වීම
- ★ පෝෂණ ගුණය වැඩි ප්‍රෝටීන් බහුල ආහාරයක් වීම

**මෙවැනි හේතු දෙකක් දැක්වීම**

**II** (ලකුණු **(a)** 1 **(b)** 2 = 03)

(iii) (a) වී වගාව සම්බන්ධ නව ප්‍රවණතා

- ★ වැඩි දියුණු කරන ලද වගා ක්‍රම හා වාරි ක්‍රම භාවිතය
- ★ නූතන තාක්ෂණික ක්‍රම භාවිතය
- ★ වැඩි ඵලදායී බීජ වර්ග භාවිතය
- ★ ජාන තාක්ෂණය භාවිතා කිරීම - නව බීජ වර්ග
- ★ පොහොර හා කෘමිනාශක භාවිතය වැඩිවීම
- ★ කෘත්‍රිම පොහොර භාවිතය වෙනුවට කාබනික පොහොර භාවිතය ජනප්‍රිය වෙමින් පැවතීම

**මෙවැනි ප්‍රවණතා දෙකක් සඳහන් කිරීම**

(b) වී වගාව සම්බන්ධයෙන් පැන නැගී ඇති ගැටළු

- ★ ගොවි බිම් කැබලි වීම
- ★ යෙදවුම්වල මිල අධික වීම
- ★ අවිචාරවත් ලෙස කෘමිනාශක හා වල්නාශක භාවිතය වැඩිවීම
- ★ ගොවීන්ගේ දුප්පත්කම
- ★ ප්‍රග්ධන හිඟය
- ★ ස්වභාවික උවදුරු (නියඟ, ගංවතුර)
- ★ ගොවිබිම් සීමිත වීම

**මෙවැනි ගැටළු දෙකක් විස්තර කිරීම**

**III** (ලකුණු **(a)** 2 **(b)** 3 = 05)

4 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නය පිළිතුරු සපයා ඇති ප්‍රමාණය වන්නේ 44%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ. ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 21%ක් ද, ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 33%ක් ද, ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 25%ක් ද, ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 21%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 21%ක් වන අතර 21%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 5 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (ii) හි (a) වන අතර එහි පහසුතාව 66%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (i) ය. එහි පහසුතාව 16%කි.

ලෝකයේ කෘෂිකාර්මික භූමි පරිභෝග වර්ගවල ව්‍යාප්තිය, ප්‍රවණතා හා ගැටලු පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීමට සකස් කෙරුණු මෙම ප්‍රශ්නය තෝරා ගෙන ඇත්තේ 44%කි.

මෙහි වැඩිම පහසුතාව (ii) කොටසේ (a) ය. එය 66% කි. තිරිඟු වගාවේ නව ප්‍රවණතා දැක්වීමේදී සෑම ධාන්‍ය වගාවකටම පොදු වූ නව ප්‍රවණතා මෙම පිළිතුරට ගළපා ලිවීම තුළින් ලකුණු ලබා ගැනීමට සිසුන් සමත් වී ඇත. විශේෂයෙන් ශ්‍රී ලංකාවේ වී වගාව ආශ්‍රිත නව ප්‍රවණතා පිළිබඳ දැනුම ඒ සඳහා උපයෝගී කරගෙන තිබුණි. මෙවැනි පිළිතුරු සඳහා එම වගාවන්ට අදාළ සුවිශේෂී ප්‍රවණතා පෙළපොතේ සඳහන් කරුණු මතකයට නඟා ලිවීමට යොමු වීම තුළින් එම කොටසට හිමි සම්පූර්ණ ලකුණු හිමි කර ගත හැකිය.

අඩුම පහසුතාව (i) කොටසට වන අතර එය 16%කි. සිතියමේ ලකුණු කර ඇති A හා B අක්ෂරවලින් දැක්වෙන භූමි පරිභෝග වර්ග දෙක මධ්‍යධරණී කෘෂිකර්මය හා වතු කෘෂිකර්මය ලෙස ලියා දැක්වීමට සිසුන් වැඩි දෙනෙක් සමත්ව නැත. මෙම විෂය කරුණු පිළිබඳව 9 හා 10 ශ්‍රේණිවල සාකච්ඡා වුවත් වැඩි අවධානයක් යොමු කරමින් මතකයේ රඳවා ගැනීමට උත්සාහ නොකිරීම, සාධනය අඩුවීමට බලපා ඇත. කෘෂිකාර්මික භූමි පරිභෝග වර්ග පිළිබඳව වෙන් වෙන්ව මතක තබා ගැනීමටත් ඒවායේ ව්‍යාප්තිය දැක්වීමටත් සිසුන්ට මඟපෙන්වීම අවශ්‍ය වේ.

කෘෂිකාර්මික භූමි පරිභෝග වර්ග හා එහි වැදගත්කම ඉස්මතු වන පරිදි කරුණු දැක්වීමත්, සිතියම් භාවිතයෙන් ක්‍රියාකාරකම් කිහිපයක යෙදවීමත් ලෝකයේ දේශගුණික කලාප අනුව කෘෂිකාර්මික භූමි පරිභෝග වර්ග පිළිබඳ ප්‍රායෝගික ක්‍රියාකාරකම්වල යෙදවීමත් විෂය සාධනය ඉහළ නැංවීමට ඉවහල් කර ගත හැකිය.

## 5 ප්‍රශ්නය

**අපේක්ෂණය : ලෝක වෙළෙඳාමේ ව්‍යාප්තිය ප්‍රවණතා හා ගැටළු පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම**

5. සංකීර්ණ වූ මානුෂ ක්‍රියාකාරකම් ඉටුකර ගන්නා මාධ්‍යයක් ලෙස වෙළෙඳාම, ප්‍රවාහනය හා සන්නිවේදනය වර්තමානයේ ඉතා වැදගත් තැනකට පත් ව ඇත.
   (i) ලෝක වෙළෙඳාමට විශාල වශයෙන් දායකවන ආසියාවේ රටවල් **දෙකක්** නම් කරන්න. *(ලකුණු 02 යි)*
   (ii) ලෝක වෙළෙඳාමේ නව ප්‍රවණතා **තුනක්** සඳහන් කරන්න. *(ලකුණු 03 යි)*
   (iii) (a) ලෝක වෙළෙඳාමේදී **සංවර්ධිත** රටවල් මුහුණපාන ගැටලුවක් හා සංවර්ධනය වන රටවල් මුහුණපාන ගැටලුවක් බැගින් පදහන් කරන්න.
   (b) සංවර්ධනය වෙමින් පවතින රටවල් ලෝක වෙළෙඳමේ දී මුහුණපාන ගැටලු විසඳා ගැනීමට අනුගමනය කරන ක්‍රියාමාර්ග **තුනක්** පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(5) (i) ලෝක වෙළදාමට දායක වන ආසියාතික රටවල් දෙකක් :
ජපානය, චීනය, ද. කොරියාව, ඉන්දියාව වැනි රටවල් දෙකක් නම් කිරීම.

(ii) ලෝක වෙළදාමේ නව ප්‍රවනතා තුනක්
- ⋆ සංවර්ධිත රටවල් වැඩි වශයෙන් කාර්මික නිමිද්‍රව්‍ය අපනයනය කිරීම
- ⋆ සංවර්ධනය වෙමින් පවතින රටවල් වැඩි වශයෙන් ප්‍රාථමික ද්‍රව්‍ය ආශ්‍රිත නිෂ්පාදන භාණ්ඩ වෙළදපොලට යොමු කිරීම හා අපනයන විවිධාංගීකරණයට යොමු වීම.
- ⋆ බහු ජාතික සමාගම් ලෝක වෙළදාමට කරන බලපෑම් වැඩිවීම
- ⋆ විද්‍යුත් මාධ්‍ය මගින් මුදල් හුවමාරුව
- ⋆ ගබඩා කිරීම් වලින් තොරව කම්හලෙන් සෘජුව පාරිභෝගිකයා අතට භාණ්ඩ පත්කිරීම.
- ⋆ සන්නිවේදන ජාල මගින් සෘජුවම වෙළෙඳපොල හැසිරවීම
- ⋆ පාරිභෝගික අවශ්‍යතා සපුරාලීමට වඩා ලාභ අපේක්ෂාව ඉස්මතු වීම
- ⋆ වෙළෙඳ ගිවිසුම්, වෙළෙඳ සංවිධාන, වෙළෙඳ හවුල් ඇති කර ගැනීමට ලොව රටවල් පෙළඹීම
- ⋆ නව කාර්මික රටවල් වැඩිපුරම ලුහු පාරිභෝගික භාණ්ඩ වෙළෙඳපොලට ඉදිරිපත් කිරීමට නැඹුරුවීම.
- ⋆ අමු ද්‍රව්‍ය ලබා ගැනීමටත් නිමිද්‍රව්‍ය අලෙවියටත් සංවර්ධිත රටවල් විශාල වශයෙන් සංවර්ධනය වෙමින් පවතින රටවල් සමග සම්බන්ධ වී කටයුතු කිරීම.

**මෙවැනි ප්‍රවණතා තුනක් සඳහන් කිරීමට**

**III (ලකුණු 1 × 3 = 03)**

(ii) (a) ● ලෝක වෙළදාමේ දී සංවර්ධිත රටවල් මුහුණ පාන ගැටලුවක්
- ⋆ ඛනිජ තෙල් මිල ඉහළ යාම නිසා කාර්මික නිෂ්පාදනවල මිළ ඉහළ යාම
- ⋆ සංවර්ධනය වෙමින් පවත්නා රටවල් කර්මාන්ත ආරම්භ කිරීම නිසා සංවර්ධිත රටවල අමුද්‍රව්‍ය මූලාශ්‍ර සීමාවීම
- ⋆ වෙළෙඳ පොලවල් සොයා ගැනීමට ඇති තරගය.

**මෙවැනි ගැටලුවක් සඳහන් කිරීම**

● සංවර්ධනය වෙමින් පවතින රටවල් ලෝක වෙළදාමේ දී මුහුණ පාන ගැටලුවක්
- ⋆ වෙළෙඳ ද්‍රව්‍ය සඳහා සාධාරණ මිලක් නොලැබීම
- ⋆ බහු ජාතික සමාගම්වල බලපෑම
- ⋆ සංවර්ධිත රටවලින් කෙරෙන බලපෑම් (සම්බාධක පැනවීම වැනි)

★ සම්ප්‍රදායික වෙළෙඳ පොල අහිමිවීම

**මෙවැනි ගැටලුවක් සඳහන් කිරීම**

(b) සංවර්ධනය වෙමින් පවතින රටවල් ලෝක වෙළෙඳාමේ දී මුහුණ පාන ගැටළු විසඳීමට ගන්නා ක්‍රියාමාර්ග

★ වෙළෙඳ ගිවිසුම් ඇති කර ගැනීම, වෙනදේසී ක්‍රමය අනුගමනය කිරීම

★ වෙළෙඳ ප්‍රදර්ශන පැවැත්වීම

★ තරගකාරී ලෙස දේශීය නිෂ්පාදන විවිධාංගීකරණය කිරීම

★ කලාපීය සංවිධාන පිහිටුවා ගැනීම

★ තරගකාරී නව වෙළෙඳපලවලට පිවිසීම

මෙවැනි ක්‍රියාමාර්ග තුනක් පැහැදිලි කිරීම

**III** (ලකුණු **(a)** 1 + 1 **(b) 3** = 02)

5 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නය තෝරාගෙන ඇති ප්‍රමාණය 51% කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 33%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 36%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 18%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 13%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 13%ක් වන අතර 33%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 4 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) වන අතර එහි පහසුතාව 80%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii) හි (b) ය. එහි පහසුතාව 31%කි.

ලෝක වෙළඳාමේ ව්‍යාප්තිය, ප්‍රවණතා හා ගැටලු පිළිබඳ දැනුම සහ අවබෝධය පිරික්සීමට සකස් කළ මෙම ප්‍රශ්නය 51%ක් තෝරා ගෙන ඇත.

වෙළඳාම සම්බන්ධ ආසියාතික රටවල් නම් කිරීම ආශ්‍රිත මෙම ප්‍රශ්නයේ (i) කොටසට 80%ක පහසුතාව ලබා ඇත. චීනය, ඉන්දියාව, ජපානය, දකුණු කොරියාව වැනි ආසියාතික රටවල් ශ්‍රී ලංකාවේ ආර්ථික, දේශපාලන හා සමාජ සංස්කෘතික කටයුතුවලදී නිරන්තරයෙන් බැඳී පැවතීම නිසා සිසුන්ට පිළිතුරු සැපයීම පහසුවී ඇත. මේ හා සම්බන්ධ අන්තර්ජාතික වෙළඳාම පිළිබඳ කාලීන තොරතුරු ජනමාධ්‍ය හා බාහිර පොත පත මගින් දැනුවත් වීමෙන් සාධන මට්ටම තවදුරටත් වර්ධනය කර ගත හැකිය.

(ii) හා (iii) වන කොටස්වල පහසුතාව 35% ටත් අඩුය. (ii) කොටස හා (iii) හි (a) අනුකොටස්වල පහසුතාව 34% කි. (iii) හි (b) අනුකොටසේ පහසුතාව අවම අගයක් ගන්නා අතර එය 31% කි. ලෝක වෙළඳාමට සම්බන්ධ නව ප්‍රවණතා ලෝක වෙළෙඳාමේදී මුහුණපාන (ii), (iii)(a) හා (b) කොටස් හා අනු කොටස්වල පහසුතා පිළිවෙළින් 34%, 34% හා 31% ක් වේ. ලෝක වෙළෙඳාමට සම්බන්ධ නව ප්‍රවණතා මතකයේ රඳවා නොගැනීම එම කොටස්වල පහසුතා අඩුවීමට හේතු වී ඇත. ගැටලු හා ඒවා විසඳීමට ගෙන ඇති ක්‍රියාමාර්ග, සංවර්ධිත හා සංවර්ධනය වෙමින් පවතින රටවල් වශයෙන් වෙන්කර හඳුනා ගැනීම කෙරෙහි අවධානය අඩු වී ඇති නිසා (iii) හි පහසුතාව අඩු වී ඇත . තවද මෙම විෂය කොටස කෙරෙහි සිසු රුචිකත්වය අඩුවීම හා ඒ පිළිබඳව කරුණු තර්කානුකූලව වටහා ගැනීමට නොහැකිවීම මීට බලපා ඇත.

පුවත්පත්, ජනමාධ්‍ය, ග්‍රන්ථ, පරිශීලනය සඳහා සිසුන් යොමු කරවීම, බිත්ති පුවත්පත් සකස් කිරීම, විවාද තරග පැවැත්වීම, සිතියම් හා වගු සටහන් භාවිතය මඟින් විෂය සාධනය ඉහළ මට්ටමකට ගෙන යාමට හැකි වනු ඇත.

# III කොටස

## 6 ප්‍රශ්නය

**අපේක්ෂණය :** **ස්වභාවික සම්පතක් ලෙස ශ්‍රී ලංකාවේ වන සම්පත්වල ව්‍යාප්තිය, වන විනාශය කෙරෙහි බලපාන මිනිස් කටයුතු හා ඉන් හටගෙන ඇති ගැටළු පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම.**

**6.** ශ්‍රී ලංකාව වෘක්ෂලතා අතින් විවිධත්වයක් ඇති රටක් වුව ද, වර්තමානය වනවිට විවිධ හේතු මත වෘක්ෂලතා වැස්ම ක්‍රමයෙන් අඩු වෙමින් පැවතීම ගැටලු රූපකට මග පාදන්නක් වී ඇත.

(i) යාබද සිතියමෙන් ශ්‍රී ලංකාවේ වෘක්ෂලතා කලාප දැක්වේ. එහි **A** හා **B** අක්ෂරවලින් දැක්වෙන වෘක්ෂලතා කලාප **දෙක** මොනවාදැයි පිළිවෙළින් ලියා දක්වන්න. *(ලකුණු 02 යි)*

(ii) වියළි මිශ්‍ර සදාහරිත වනාන්තරවල ලක්ෂණ **තුනක්** විස්තර කරන්න. *(ලකුණු 03 යි)*

(iii) (a) වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර විනාශවීම කෙරෙහි බලපාන මිනිස් කටයුතු **තුනක්** සඳහන් කරන්න.

(b) වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර විනාශ වීම නිසා වර්තමානයේ උද්ගතව ඇති ගැටළු **දෙකක්** විස්තර කරන්න. *(ලකුණු 05 යි)*




**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(6) (i) A - පහතරට තෙත් වනාන්තර/ නිවර්තන තෙත්/ නිවර්තන වැසි වනාන්තර
B - අර්ධ ශුෂ්ක වනාන්තර

**(කටු පඳුරු සහිත ලඳුකැලෑ)** **I** (ලකුණු 1 + 1 = 02)

(ii) වියළි මිශ්‍ර සදාහරිත වනාන්තරවල ලක්ෂණ

- ★ වියළි කලාපය පුරා පැතිර ඇත.
- ★ වනාන්තර ඝනව නොවැඩේ.
- ★ බුරුත, කලුවර, පලු, කෝන් වැනි තද අරටුවකින් යුත් ආර්ථික වටිනාකමකින් ඇති ශාක වර්ග දක්නට ඇත.
- ★ ගස්වල උස මීට 20 - 30 අතර වේ.
- ★ ඇඩි නියං කාලවලදී ඇතැම් ගස්වල කොළ හැලේ.

**මෙවැනි ලක්ෂණ තුනක් විස්තර කිරීමට** (ලකුණු **1 × 3 = 03**)

(ii)(a) වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර විනාශවීමට බලපාන මිනිස් කටයුතු තුනක්

- ★ ජනාවාසකරණය සඳහා වනාන්තර එළි කිරීම
- ★ සංවර්ධන ව්‍යාපාර සඳහා වනාන්තර එළි කිරීම
- ★ දැව සහ දර ලබා ගැනීම සඳහා අනවසරයෙන් කැලෑ කැපීම
- ★ හේන් ගොවිතැන් සඳහා කැලෑ කැපීම
- ★ මානුෂ අවශ්‍යතා සඳහා කැලෑ ගිනි තැබීම

**මෙවැනි මිනිස් කටයුතු තුනක් සඳහන් කිරීම**

(b) වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර විනාශවීම නිසා උද්ගතවී ඇති ගැටළු දෙකක්

- ★ පස සෝදාගෙනයාම හා පස නිසරුවීම
- ★ වන සතුන්ගේ වාසභූමි අහිමිවීම
- ★ අලි - මිනිස් ගැටුම
- ★ සත්ව හැසිරීම් රටා වෙනස්වීම
- ★ ඇතැම් අවේනික හා දුර්ලභ ශාක හා සතුන් වඳවී යාම
- ★ දේශගුණික වෙනස්කම් හට ගැනීම

(ලකුණු **(a)** 3 + **(b)** 2 = 05)

**6 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




මෙම ප්‍රශ්නයට පිළිතුරු සපයා ඇති ප්‍රමාණය 33%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 20%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 39%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 23%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 18%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 18%ක් වන අතර 20%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 4 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (iii) හි (b) වන අතර එහි පහසුතාව 76%කි. එසේම පහසුතාව අඩුම කොටස් වන්නේ (i) හා (ii) ය. එහි පහසුතා 30% බැගින් වේ.

ශ්‍රී ලංකාවේ වන සම්පත්වල ව්‍යාප්තිය, මිනිස් කටයුතු, වන විනාශය කෙරෙහි බලපෑම හා ඒ සම්බන්ධයෙන් පැන නැගී ඇති ගැටලු පිළිබඳව දැනුම හා අවබෝධය පිරික්සීමේ අරමුණින් සකස් කර ඇති මෙම ප්‍රශ්නය අපේක්ෂකයින් 33%ක් තෝරාගෙන ඇත.

වැඩිම පහසුතාව (iii) හි (b) කොටස වන අතර එය 76%කි. වියළි මිශ්‍ර සදාහරිත වනාන්තර විනාශවීම නිසා උද්ගත වී ඇති ගැටලුවලට එම ප්‍රදේශවල ජනයා මෙන්ම ශ්‍රී ලංකාවේ සමස්ත ප්‍රජාවම දැනුවත් වීම හා ඒවාට මුහුණ දීමත් මේ පිළිබඳ අවධානයට ලක්වීමත් නිසා පිළිතුරු ලබාදීම පහසු වී ඇත. මෙහිදී පෙළපොතට බාහිරව පරිසර විනාශය හා එය සුරැකීම සම්බන්ධයෙන් ඇති වැඩ සටහන්වලට සිසුන් යොමු කිරීමෙන් තවදුරටත් ශිෂ්‍ය සාධනය වැඩි කර ගත හැකිය.

අඩුම පහසුතාව 30% බැගින් වන අතර එය (i) හා (ii) යන කොටස්වලට වේ. වෘක්ෂලතා කලාප දැක්වෙන සිතියම් පරිහරණය හා ලකුණු කිරීම අඩු මට්ටමක පැවතීම ඒවායේ ලක්ෂණ වෙන් වෙන්ව හඳුනාගෙන නොතිබීම අවම පහසුතාවට හේතු වී ඇත. ඒ සඳහා සිසුන් ප්‍රායෝගික අභ්‍යාස සඳහා යොමු කිරීම මගින් සාධන මට්ටම ඉහළ නැංවිය හැකිය.

ක්ෂේත්‍ර චාරිකාවලට සහභාගිත්වය වැඩි කිරීම, සිතියම් භාවිතය, ජාත්‍යන්තර පරිසර දින සැමරීමේ වැඩසටහන්වලට යොමු කිරීම, දෛනික මිනිස් කටයුතු පිළිබඳව විමසිලිමත්ව කරුණු රැස් කිරීම වැනි ක්‍රියාකාරකම්වලින් සිසුන්ගේ සාධන මට්ටම වැඩිදියුණු කළ හැකිය.

7 ප්‍රශ්නය

අපේක්ෂණය : ශ්‍රී ලංකාවේ ව්‍යාපාරික භෝග වගාවේ ව්‍යාප්තිය ගැටළු හා ආර්ථික සංවර්ධනයට ඇති වැදගත්කම පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම

7. යටත් විජිත සමයේ සිට විශාල දියුණුවකට පත් වූ වාණිජ බෝග වගාව ශ්‍රී ලංකාවේ ආර්ථිකයට මහත් වූ දායකත්වයක් සපයන කෘෂිකාර්මික කටයුත්තක් වී ඇත.

(i) ශ්‍රී ලංකාවේ වාණිජ කෘෂිකර්මය යටතේ
(a) තේ වගාවට වැදගත් දිස්ත්‍රික්කයක් නම් කරන්න.
(b) රබර් වගාවට වැදගත් දිස්ත්‍රික්කයක් නම් කරන්න.
(ලකුණු 02 යි)

(ii) ශ්‍රී ලංකාවේ පොල් නිෂ්පාදනය අඩුවීම කෙරෙහි මෑත කාලීනව බලපා ඇති හේතු **තුනක්** සඳහන් කරන්න.
(ලකුණු 03 යි)

(iii) (a) ශ්‍රී ලංකාවෙන් අපනයනය කරන ප්‍රධාන කුළුබඩු වර්ග **දෙකක්** නම් කරන්න.
(b) කුළුබඩු නිෂ්පාදනය දියුණු කිරීම මගින් ශ්‍රී ලංකාවේ ආර්ථිකයට ලැබෙන පිටිවහල නිදසුන් දක්වමින් පැහැදිලි කරන්න.
(ලකුණු 05 යි)

**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(7) (i) (a) තේ වගාවට වැදගත් දිස්ත්‍රික්කයක්
- ★ මහනුවර ★ බදුල්ල ★ රත්නපුරය ★ නුවරඑළිය ★ කෑගල්ල
- ★ මාතලේ ★ මාතර ★ ගාල්ල ★ කළුතර

**යන දිස්ත්‍රික්ක වලින් එකක් නම් කිරීම**

(b) රබර් වගාවට වැදගත් දිස්ත්‍රික්කයක්
- ★ කෑගල්ල ★ රත්නපුරය ★ කොළඹ ★ ගාල්ල
- ★ මාතර ★ කළුතර ★ මොනරාගල ★ මාතලේ
- ★ මහනුවර

**යන දිස්ත්‍රික්කවලින් එකක් නම් කිරීම** (ලකුණු **(a)** 1 + **(b)** 1 = 02)

(ii) ශ්‍රී ලංකාවේ පොල් නිෂ්පාදනය අඩුවීම කෙරෙහි මෑත කාලීනව බලපා ඇති හේතු තුනක්
- පොල් ඉඩම් කැබලිකර විකිණීම
- ගෙවතු ආශ්‍රිත වගාවන්හි පොහොර භාවිතය අඩුවීම හා අඩු ඵලදාව
- වගාව පැරණි වීම
- පළිබෝධ හා කෘමි උවදුරු
- දේශගුණික බලපෑම් - නියඟ/ සුළි කුණාටු වැනි

**මෙවැනි හේතු තුනක් සඳහන් කිරීම** (ලකුණු **1 × 3 = 03**)

(iii) (a) ලංකාවෙන් අපනයනය කරන කුළුබඩු වර්ග
- ★ කුරුඳු ★ ගම්මිරිස් ★ කරද මුංගු ★ කරාබු නැටි ★ සාදික්කා

**වැනි කුළුබඩු වර්ග දෙකක් නම් කිරීම**

(b)
- අපනයනය මගින් විදේශ විනිමය ඉපැයිය හැකිවීම
- ලංකාවේ කුරුඳු හා ගම්මිරිස් සඳහා ලෝක වෙළෙඳපොලේ විශාල ඉල්ලුමක් පැවතීම නිසා අපනයනයෙන් වැඩි වාසි අත්වීම
- ශ්‍රී ලංකාවේ බොහෝ ප්‍රදේශවල වගාකළ හැකි වීම නිසා රැකියා සැපයිය හැකි අවස්ථා වැඩි වීම
- ප්‍රාදේශිය සංවර්ධනයට රුකුලක් වීම
- අඩු වියදමකින් වැඩි ආදායමක් ලැබිය හැකි වීම
- ග්‍රාමීය ජනතාවගේ රැකියා ප්‍රශ්නයට විසඳුමක් ලැබීම

**මෙවැනි කරුණු තුනක් දැක්වීම** (ලකුණු **(a)** 2 + **(b)** 3 = 05)

7 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 83%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 7%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 27%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 34%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 32%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 32%ක් වන අතර 07%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 5 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) හි (a) වන අතර එහි පහසුතාව 93%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii) හි (b) එහි පහසුතාව 51%කි.

ශ්‍රී ලංකාවේ ව්‍යාපාරික බෝග වගාවේ ව්‍යාප්තිය, ගැටලු හා ආර්ථික සංවර්ධනයට ඇති වැදගත්කම පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම අපේක්ෂාවෙන් සකස් වී ඇති මෙම ප්‍රශ්නය අයදුම්කරුවන්ගෙන් 83%ක් තෝරාගෙන ඇති ජනප්‍රිය ප්‍රශ්නයකි. මෙහිදී වැඩිම පහසුතාවක් දක්වා ඇත්තේ (i) හි (a) අනු කොටස ය. එය 93%කි. ශ්‍රී ලංකාවේ වැඩි දිස්ත්‍රික්ක ප්‍රමාණයක තේ වගාව ව්‍යාප්තව ඇති බව සිසුන් දැන සිටීම මෙම ප්‍රශ්නයේ පහසුතාව වැඩිවීමට හේතු වී ඇත.

(iii) හි (a) අනු කොටසට ද 87%ක පහසුතාවක් දක්වා තිබේ. ශ්‍රී ලංකාවෙන් අතීතයේ සිටම අපනයනය කරන කුළු බඩු වර්ග පිළිබඳව සිසුන් පෙළපොත හා බාහිරව ලබා ඇති අවබෝධය මෙම පහසුතාවයට හේතුව වී ඇත.

අඩුම පහසුතාව (iii) හි (b) අනු කොටස වේ. එය 51%කි. කුළු බඩු නිෂ්පාදනය දියුණු කිරීමෙන් ආර්ථිකයට ලැබෙන පිටිවහල පිළිබඳව විස්තරාත්මක කරුණු ගොනු කර ගැනීමට ඇතැම් සිසුන් අපොහොසත් වුවත් මෙම ප්‍රශ්නයේ සියලුම අනු කොටස් 50%ට වැඩි පහසුතාවක් දක්වා ඇත.

මෙහිදී සාධන මට්ටම තවදුරටත් ඉහළ නංවා ගැනීමට සංඛ්‍යා ලේඛන භාවිතයෙන් තොරතුරු ගවේෂණයට යොමු කිරීම, සිතියම් භාවිතය ඇසුරින් බෝග ව්‍යාප්තිය හඳුනා ගැනීමට සැලැස්වීම කළ හැක.

8 ප්‍රශ්නය

අපේක්ෂණය: : ශ්‍රී ලංකාවේ ක මාන්ත ක්ෂේත්‍රයෙහි ඛනිජ පාදක කර්මාන්තවල ඇති වැදගත්කම හා ගැටළු පිළිබඳ අවබෝධය පිරික්සීම

**8.** ශ්‍රී ලංකාව විවිධ ඛනිජ සම්පත් අතින් පොහොසත් රටක් වුව ද ඒ ආශ්‍රිත කර්මාන්ත අතින් ලබා ඇත්තේ අඩු දියුණුවකි

(i) ශ්‍රී ලංකාවේ ඛනිජ පාදක කරගත් කර්මාන්ත **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ඛනිජ පාදක කර්මාන්ත ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට වැදගත්වන ආකාරය කරුණු **තුනකින්** දක්වන්න. (ලකුණු 03 යි)

(iii) ශ්‍රී ලංකාවේ ඛනිජ පාදක කර්මාන්ත සම්බන්ධයෙන් වර්තමානයේ පැන නැගී ඇති ගැටළු **තුනක්** පැහැදිලි කරන්න (ලකුණු 05 යි,

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(8) (i) ශ්‍රී ලංකාවේ ඛනිජ පාදක කර්මාන්ත දෙකක් නම් කිරීම

- මිනිරන් ආශ්‍රිත කර්මාන්ත
- වීදුරු
- ලුණු
- උළු - ගඩොල්
- සිමෙන්ති
- පිඟන් සහ පිඟන් මැටි ආශ්‍රිත නිෂ්පාදන
- මැණික්
- ගැනයිට් හා මාබල්
- පොස්පේට් පොහොර
- අළු හුණු නිෂ්පාදනය

**මෙවැනි කර්මාන්ත දෙකක් නම් කිරීම**

(ලකුණු 1 + 1 = 02)

(ii) ඛනිජ පාදක කර්මාන්ත ලංකාවේ ආර්ථික සංවර්ධනයට බලපාන ආකාරය

★ විදේශ විනිමය ඉපයීමේ හැකියාව
★ රැකියා සැපයීමේ හැකියාව
★ අමුද්‍රව්‍ය ලෙස අපනයනයට වඩා නිමි භාණ්ඩ නිෂ්පාදනය කර අපනයනය කිරීමෙන් වැඩි ආදායමක් ලබා ගත හැකි වීම
★ ප්‍රාදේශිය සංවර්ධනය වේගවත්වීම (යටිතල පහසුකම් වර්ධනය වීම මගින්)

**මෙවැනි කරුණු තුනක් සඳහන් කිරීම**

(ලකුණු **1 × 3 = 03**)

(iii) ඛනිජ පාදක කර්මාන්ත සම්බන්ධයෙන් වර්තමානයේ පැන නැගී ඇති ගැටලු

★ පාරිසරික ගැටලු (මැණික්, උළු - ගඩොල් වැනි කර්මාන්ත නිසා)
★ ප්‍රාග්ධන හිඟය
★ තාක්‍ෂණය නොමැතිකම
★ පුහුණු ශ්‍රමිකයන් හිඟය
★ විදේශිය නිෂ්පාදන වලින් එල්ලවන තරඟය
★ නිෂ්පාදන පිරිවැය අධික වීම

**මෙවැනි ගැටලු තුනක් පැහැදිලි කිරීම**

ලකුණු - ගැටලු තුන නම් කිරීමට = 03
විස්තර කිරීමට = 02
05

8 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




මෙම ප්‍රශ්නය තෝරාගෙන ඇති ප්‍රමාණය වන්නේ 29%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 30%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 18%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 24%ක් වන අතර 28%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් 3 අතුරෙන් පහසුතාව වැඩිම කොටස (i) වන අතර එහි පහසුතාව 62%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii) ය. එහි පහසුතාව 42%කි.

ශ්‍රී ලංකාවේ කර්මාන්ත ක්ෂේත්‍රයෙහි ඛනිජ පාදක කර්මාන්තවල ඇති වැදගත්කම හා ගැටලු පිළිබඳ අවබෝධය පිරික්සීම අපේක්ෂණය වූ මෙම ප්‍රශ්නය 29%ක් තෝරා ගෙන ඇත. අයදුම්කරුවන් අඩුවෙන් තෝරාගත් ප්‍රශ්නයකි. මෙහි වැඩිම පහසුතාව (i) කොටස ය. එය 62%කි. පෙළපොතට අදාළව ඛනිජ වර්ගීකරණය පිළිබඳව සිසුන් ලබා ඇති දැනුම මෙයට උපකාරි වී ඇත.

අඩුම පහසුතාව දක්වා ඇත්තේ (iii) කොටසට ය. එය 42% කි. ඛනිජ පාදක කර්මාන්ත ඇසුරින් පැන නැගී ඇති ගැටළු හඳුනා ගැනීම කෙරෙහි ඇති අඩු විශ්ලේෂණාත්මක හැකියාව මෙම අවම පහසුතාවයට හේතු වී ඇත.

ක්ෂේත්‍ර චාරිකා මගින් ප්‍රාදේශීය ඛනිජ සම්පත් කර්මාන්ත හඳුනා ගැනීමට යොමු කිරීම, අධ්‍යාපන චාරිකාවලදී මෙවැනි කර්මාන්ත නැරඹීමට ප්‍රමුඛතාවය ලබා දීම. ශ්‍රී ලංකාවේ ඛනිජ හා ඒ ආශ්‍රිත කර්මාන්ත ලැයිස්තුගත කිරීම හා ව්‍යාප්තිය සිතියම්ගත කිරීම එක් එක් කර්මාන්තය සඳහා බලපෑ ගැටළු එක් රැස් කිරීමට යොමු කිරීම සහ විසඳුම් පිළිබඳ ක්‍රියාකාරකම්වල යෙදවීම මගින් ශිෂ්‍ය සාධන මට්ටම වැඩි කළ හැක.

## 9 ප්‍රශ්නය

**අපේක්ෂණය :** ශ්‍රී ලංකාවේ ප්‍රවාහන ක්ෂේත්‍රයෙහි වර්ධනය හා ආර්ථිකයට ඉන් ඇතිවන බලපෑම පිළිබඳ දැනුම හා අවබෝධය මැනීම

9. ප්‍රවාහන ක්ෂේත්‍රයේ දියුණුව රටක ආර්ථිකයෙහි සෑම අංශයක් කෙරෙහි ම ඇති කරන්නේ අති මහත් බලපෑමකි.
(i) (a) ශ්‍රී ලංකාවේ මහාමාර්ග ප්‍රවාහනයේ දියුණුවට හා
(b) ශ්‍රී ලංකාවේ ගුවන් ප්‍රවාහනයේ දියුණුවට
මෑතක දී ගත් ක්‍රියා මාර්ග **එක** බැගින් සඳහන් කරන්න.
*(ලකුණු 02 යි)*
(ii) ශ්‍රී ලංකාවේ වරාය පහසුකම් දියුණු කිරීම සඳහා මෑත කාලීනව ගෙන ඇති ක්‍රියාමාර්ග **තුනක්** සඳහන් කරන්න.
*(ලකුණු 03 යි)*
(iii) වරාය පහසුකම් දියුණු කිරීම මගින් ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට ලැබෙන පිටිවහල කරුණු **තුනක්** ඇසුරින් විස්තර කරන්න.
*(ලකුණු 05 යි)*

**අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය**

(9) (i) (a) මහා මාර්ග ප්‍රවාහනයේ දියුණුවට මෑතකාලීනව ගත් ක්‍රියාමාර්ග
- මාර්ග පුළුල් කිරීම හා කාපට් අතුරා සකස් කිරීම
- අධිවේගී මාර්ග ඉදි කිරීම - කොළඹ - ගාල්ල, කොළඹ - කටුනායක
- ගුවන්පාලම් ඉදි කිරීම
- "මග නැගුම" යටතේ මාර්ග සංවර්ධනය
- නව මාර්ග ඉදි කිරීම

**මෙවැනි ක්‍රියා මාර්ගයක් සඳහන් කිරීම**

(b) ගුවන් ප්‍රවාහනයේ දියුණුවට ගත් ක්‍රියාමාර්ග
- මත්තල නව ගුවන් තොටුපල ඉදි කිරීම
- විවිධ රටවලට නව ගුවන් ගමනාන්ත ඇරඹීම
- අභ්‍යන්තර ගුවන් තොටුපලවල් සංවර්ධනය කිරීම
- මුහුදු ගුවන් යානා භාවිතය ආරම්භ කිරීම
- "මිහින් ලංකා" ගුවන් සේවය ආරම්භ කිරීම

**මෙවැනි ක්‍රියා මාර්ගයක් සඳහන් කිරීම** (ලකුණු **(a)** 1 + **(b)** 1 = 02)

(ii) වරාය පහසුකම් දියුණු කිරීමට මෑතකාලීනව ගත් ක්‍රියාමාර්ග
- කොළඹ දකුණු වරාය සංවර්ධන ව්‍යාපෘතිය
- ඔලුවිල් වරාය ඉදි කිරීම
- ගාල්ල, කන්කසන්තුරේ හා ත්‍රිකුණාමල වරාය සංවර්ධනය කිරීම
- හම්බන්තොට මාගම්පුර වරාය ඉදි කිරීම
- කොළඹ වරාය පහසුකම් වැඩි කිරීම

**මෙවැනි ක්‍රියාමාර්ග තුනක් සඳහන් කරන්න** **(ලකුණු 1 × 3 = 03)**

(iii) වරාය පහසුකම් දියුණු කිරීම මගින් ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට ලැබෙන පිටිවහල
- විදේශ විනිමය උපයා ගැනීමේ අවස්ථා වැඩිවීම
- රැකියා අවස්ථා පුළුල් වීම
- යටිතල පහසුකම් වර්ධනය වීම
- ප්‍රති අපනයන පහසුකම් හා සේවා සැපයීම් මගින් විශාල ආදායමක් උපයාගත හැකිවීම
- ජාත්‍යන්තර වෙළෙඳපලට සමීපවීමේ ඉඩකඩ පුළුල් වීම

**III ලකුණු** - ගැටලු තුන නම් කිරීමට = 03
විස්තර කිරීමට = 02
05

**9 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




මෙම ප්‍රශ්නය සඳහා තෝරාගෙන ඇති ප්‍රමාණය වන්නේ 50%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 10ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 02 ප්‍රාන්තරයේ 11%ක් ද,
ලකුණු 03 - 05 ප්‍රාන්තරයේ 29%ක් ද,
ලකුණු 06 - 07 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු 08 - 10 ප්‍රාන්තරයේ 36%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 08 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 36%ක් වන අතර 11%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 02 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 4 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) හි (a) වන අතර එහි පහසුතාව 95%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii) ය. එහි පහසුතාව 48%කි.

ශ්‍රී ලංකාවේ ප්‍රවාහන ක්ෂේත්‍රයේ වර්ධනය හා ආර්ථිකයට ඇතිවන බලපෑම පිළිබඳ දැනුම හා අවබෝධය මැනීම මෙම ප්‍රශ්නයේ අපේක්ෂණය වේ. 50%ක් මෙම ප්‍රශ්නය තෝරාගෙන ඇත. වැඩිම පහසුතාව දක්වන්නේ (i) හි (a) හා (b) අනුකොටස් ය. එය පිළිවෙළින් 95% හා 89% කි. කාලීනව ලැබූ දැනුම හා අත්දැකීම් ප්‍රයෝජනයට ගෙන පිළිතුරු ලිවීම නිසා මෙහි පහසුතාව වැඩි වී ඇත.

අඩුම පහසුතාව (iii) කොටසට ය. එය 48% කි. වරාය පහසුකම් දියුණු කිරීම මගින් ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට ලැබෙන පිටිවහල, විශ්ලේෂණාත්මකව විස්තර කිරීමට අයදුම්කරුවන් දක්වා ඇති අඩු හැකියාව මීට හේතු වී ඇත.

විශ්ලේෂණාත්මක හැකියාව වර්ධනය කිරීම සඳහා අවශ්‍ය ක්‍රමවේද භාවිතය, තර්කානුකූලව පිළිතුරු ලිවීමේ රටාවලට යොමු කිරීම මගින් විෂය සාධනය ඉහළ නැංවිය හැක.

2.2.3 **II** ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා




**I කොටස**

පළමු ප්‍රශ්නය I කොටසට අයත් වන අතර එය අනිවාර්ය වේ. මෙම ප්‍රශ්නය සකස් වී ඇත්තේ (අ) (i) සිට (vii) දක්වා කොටස් ශ්‍රී ලංකාවේ 1 : 50,000 භූ ලක්ෂණ සිතියමට අනුකූලව ය. (ආ) සහ (ඉ) කොටස් සිතියම් විද්‍යාත්මක ක්‍රම භාවිත කරමින් දී ඇති දෑ ලෝක හා ලංකා ආකෘති සිතියම්වල ලකුණු කොට නම් කිරීම සඳහා ය.

1 : 50,000 භූ ලක්ෂණ සිතියම ඇසුරින් සකස් කොට ඇති ප්‍රශ්න සඳහා වැඩි පහසුතාවයක් දක්වා ඇත. 1 : 50,000 මෙට්‍රික් සිතියම් ඇසුරු කර ගැනීමෙන් පංති කාමර ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සාර්ථකව ඉටු කිරීම මීට හේතු වී ඇත. සමස්තයක් ලෙස ගත්විට ලෝක හා ලංකා සිතියම් ලකුණු කිරීම දුර්වල මට්ටමක ඇත. එය 30% ට වඩා අඩු පහසුතාවක් පෙන්වයි.

නිවැරදි සිතියම් විද්‍යාත්මක ශිල්පීය ක්‍රම භාවිත කරමින් ලෝක හා ලංකා සිතියම් ලකුණු කිරීමේ අභ්‍යාසවල නිරත කරවීම නිතර සිදුකිරීම ද 1 : 50,000 මෙට්‍රික් සිතියම් භාවිතයට වැඩි ඉඩ ප්‍රස්ථා ලබාදීම ද, කාලීන පුවත් එකතුවක් ඇසුරින් තොරතුරු සිතියම්ගත කරවීමට යොමු කරවීම තුළින් ඉහළ සාධන මට්ටමකට ළඟා විය හැක.

**II කොටස**

භෞතික හා මානව භූ දර්ශන ක්‍රියාවලියේ අන්තර් සම්බන්ධතාව පිළිබඳව ලෝකයේ රටවල් ඇසුරින් පිළිතුරු සැපයීමට ප්‍රශ්න අංක 2 සිට 5 දක්වා අවස්ථාව සපයා ඇත. මෙහිදී ප්‍රශ්න තෝරා ගැනීමේදී භෞතික භූගෝල විද්‍යාව කොටසට පිළිතුරු ලිවීම වැඩි ප්‍රවණතාවයක් දක්වා ඇති අතර මානව භූගෝල විද්‍යාව කොටසට දක්වා ඇත්තේ අඩු ප්‍රවණතාවයකි. මෙම කොටසින් ප්‍රශ්න දෙකකට පිළිතුරු ලිවීම අපේක්ෂා කෙරේ. මෙහිදී ප්‍රශ්න තෝරා ගැනීම 2, 3, 4 හා 5 යන ප්‍රශ්නවලට පිළිවෙළින් අයදුම්කරුවන් 78%, 64%, 44% හා 52% ලෙස වේ. වැඩිම තෝරා ගැනීමක් ඇත්තේ දෙවන ප්‍රශ්නයයි. සපයා ඇති වායුගෝලීය ස්තර දැක්වෙන රූප සටහන පිළිබඳ දැනුම නිරවුල්ව තහවුරු වී තිබීම වැඩි දෙනෙකුගේ තෝරා ගැනීමට හේතු වී ඇත.

මෙම කොටසින් අඩුම තෝරා ගැනීම ඇත්තේ 4 වන ප්‍රශ්නයයි. එය 44% කි. ප්‍රශ්නයේ පුළුල් වූ විෂය කරුණු විමසීම මෙම ප්‍රශ්නයෙන් අපේක්ෂණය වී තිබීම මීට හේතු විය. මෙම ප්‍රශ්නය තුළින් ලෝක කෘෂි කාර්මික රටාවල ව්‍යාප්තිය, කෘෂි රටා වර්ග නව ප්‍රවණතා ගැටලු, අන්තර්ජාතික වෙළඳාම, ගැටලු නිරාකරණය ආදී වශයෙන් පුළුල් ක්ෂේත්‍රයක් පුරා විහිදී තිබීම තේරීම අඩුවීමට හේතු වී ඇත. මේ සඳහා කෘෂි කාර්මික භූමි පරිභෝග අධ්‍යයනයේදී එහි වැදගත්කම ඉස්මතුවන පරිදි කරුණු දැක්වීම, දේශගුණික කලාප අනුව භූමි පරිභෝගයේ ව්‍යාප්තිය දැක්වීම, කෘෂි ව්‍යාප්ති රටා සිතියම් භාවිතය, නව ප්‍රවණතා පිළිබඳ තොරතුරු යාවත්කාලීන කිරීමට යොමු කිරීම තුළින් සාධන මට්ටම ඉහළ නැංවිය හැක.

**III කොටස**

භෞතික හා මානව භූ දර්ශන ක්‍රියාවලියේ අන්තර් සම්බන්ධතාවයන් ශ්‍රී ලංකාව ඇසුරින් පිළිතුරු සැපයීමට ප්‍රශ්න අංක 6 සිට 9 දක්වා ප්‍රශ්න 4 ක් සකස් වී ඇත. ප්‍රශ්න තෝරා ගැනීමේ දී ලංකාවේ මානව භූගෝල විද්‍යාව කොටසට පිළිතුරු ලිවීම වැඩි ප්‍රවණතාවක් දක්වා ඇති අතර භෞතික භූගෝල විද්‍යාව කොටසට දක්වා ඇත්තේ අඩු ප්‍රවණතාවයකි. මෙම කොටසින් ප්‍රශ්න 2 ක් තෝරා පිළිතුරු ලිවීමට අවස්ථාව ලබා දී ඇත. ශ්‍රී ලංකාවේ ස්වභාවික සම්පත් ව්‍යාපාරික භෝග, ඛනිජ සම්පත් පාදක කර්මාන්ත, ප්‍රවාහන ක්ෂේත්‍රයට අලළා ප්‍රශ්න සකස් වී ඇත. ප්‍රශ්න තෝරා ගැනීම පිළිබඳව සැලකීමේ දී 7 වන ප්‍රශ්නය ජනප්‍රිය වී ඇති අතර එය තෝරා ගැනීම 84% කි. එය මානව පරිසරය හා වැඩි බැඳියාවක් තිබීම තෝරා ගැනීමට හේතු වී ඇත.

අඩුවෙන් පිළිතුරු සපයා ඇත්තේ 8 වන ප්‍රශ්නයට ය. ඛනිජ සම්පත් පාදක කර්මාන්ත පිළිබඳව සිසුන් තුළ ඇති දැනුම අඩුවීම ජනප්‍රියතාවය අඩු වීමට හේතු වී ඇත. මේ සඳහා ක්ෂේත්‍ර චාරිකා සංවිධානය කිරීම, කර්මාන්ත ව්‍යාප්තිය සිතියම්ගත කරවීම, කර්මාන්ත ආශ්‍රිත ගැටළු හා විසඳුම් වගුගත කිරීම වැනි ක්‍රියාකාරකම්වලට සිසුන් යොමු කිරීම තුළින් ඉහළ සාධනයක් ලබාගත හැක.

## III කොටස

## 3. පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු හා යෝජනා :

### 3.1 පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :

**පොදු උපදෙස් :**

- ★ ප්‍රශ්න පත්‍රයේ ඇති මූලික උපදෙස් කියවා හොඳින් තේරුම්ගත යුතුය. එනම් එක් එක් කොටසින් කොපමණ ප්‍රශ්න සංඛ්‍යාවකට පිළිතුරු සැපයිය යුතු ද, කුමන ප්‍රශ්න අනිවාර්ය ද, කොපමණ කාලයක් ලැබේද, කොපමණ ලකුණු ලැබේද යන කරුණු පිළිබඳව සැලකිලිමත් විය යුතු අතර ප්‍රශ්න හොඳින් කියවා නිරවුල් අවබෝධයක් ඇති කරගෙන ප්‍රශ්න තෝරා ගත යුතුය.
- ★ I පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී ප්‍රශ්න අංක 1 - 10 තෙක් නිවැරදි හෝ වඩාත් ගැළපෙන පිළිතුරු වරහන තුළින් තෝරා හිස්තැන සම්පූර්ණ කළ යුතුය. ප්‍රශ්න අංක 11 - 20 තෙක් එක් එක් ප්‍රකාශය කියවා බලා නිවැරදි නම් (නි) යන්න වටා ද වැරදි නම් (වැ) යන්න වටාද රවුමක් ඇඳිය යුතුවේ. ප්‍රශ්න අංක 21 - 30 තෙක් හිස්තැනට සුදුසු වචන යොදා සම්පූර්ණ කළ යුතුය. ප්‍රශ්න අංක 31 - 40 තෙක් නිවැරදි හෝ වඩාත් ගැළපෙන පිළිතුර තෝරා ඊට හිමි අංකය තිත් ඉර මත ලිවිය යුතුය.
- ★ II පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී සෑම ප්‍රධාන ප්‍රශ්නයක්ම අලුත් පිටුවකින් ආරම්භ කළ යුතුය.
- ★ මෙහිදී II පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී I කොටසේ (අ) අනුකොටසට දෙන ලද පිළිතුරු සැපයීම සඳහා දී ඇති ආකෘතිය භාවිත කළ යුතුය. I හා III කොටස්වලට පිළිතුරු සැපයීමේදී එක් කොටසකින් ප්‍රශ්න 2 බැගින් තෝරා ගත යුතුය.
- ★ නිවැරදි හා පැහැදිලි අත් අකුරින් පිළිතුරු ලිවිය යුතුය.
- ★ අයදුම්කරුගේ විභාග අංකය සෑම පිටුවකම අදාළ ස්ථානයේ ලිවිය යුතුය.
- ★ නිශ්චිත කෙටි පිළිතුරු ලිවීමට අවශ්‍ය අවස්ථාවලදී දීර්ඝ විස්තර ඇතුළත් කිරීම මෙන්ම විස්තරාත්මක පිළිතුරු සැපයීම ද නොකළ යුතුය.
- ★ ප්‍රශ්නය අසා ඇති ආකාරය අනුව තර්කානුකූලව හා විශ්ලේෂණාත්මකව කරුණු ඉදිරිපත් කළ යුතුය.
- ★ නියමිත ප්‍රශ්න සංඛ්‍යාවට පමණක් පිළිතුරු සැපයීමට කාලය මිඩංගු කළ යුතු අතර අමතර ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට කාලය වැය නොකළ යුතුය.
- ★ ලංකාව හා ලෝක සිතියම් ලකුණු කිරීමේදී නිවැරදි සිතියම් විද්‍යාත්මක ක්‍රම භාවිත කළ යුතුය.
- ★ ප්‍රශ්න අංක, කොටස් අංක හා අනුකොටස් අංක නිවැරදිව ලිවිය යුතුය.

**විශේෂ උපදෙස් :**

- ★ සිතියම් ලකුණු කිරීමේදී සැලකිලිමත් විය යුතු කරුණු :
  - ලංකාව හා ලෝක සිතියම් ලකුණු කර නම් කිරීම වෙනුවට අංක නොයෙදීම.
  - 1 : 50,000 භූ ලක්ෂණ සිතියම ආශ්‍රිත ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේදී දෙන ලද ආකෘතිය පමණක් භාවිත කළ යුතු වීම
  - කරුණු දැක්වීම හා ඒවා පැහැදිලි කිරීම, විස්තර කිරීම හෝ සනාථ කිරීම අනුව ප්‍රශ්නවල ලකුණු බරතබා ඇති බව තේරුම් ගැනීම
  - අසා ඇති ප්‍රශ්නවලට උචිත පිළිතුරු පමණක් ගොනුකර ඉදිරිපත් කිරීම
  - පිළිතුරු සඳහා කරුණු ඡේද අනුව වෙන්කර ලිවීම

### 3.2 ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ අදහස් හා යෝජනා :

★ ඉගෙනුම් ඉගැන්වීම් හා ඇගයීම් ක්‍රියාවලිය තුළින් ප්‍රතිඵල සංවර්ධනය සඳහා,

- විෂයට අදාළ ලංකා හා ලෝක බිත්ති සිතියම්, 1 : 50,000 භූ ලක්ෂණ සිතියම්, ආදර්ශ ගෝල හා වෙනත් සිතියම් භාවිත කිරීම.
- රූප සටහන්, ප්‍රස්තාර, වගු සටහන්, වෙනත් පොත්, ත්‍රිමාණ රූප සටහන්, නිර්මාණ වීඩියෝ පට ආදී ඉගෙනුම් ආධාරක භාවිත කිරීම.
- විෂය ක්‍රියාකාරකම් ප්‍රබෝධජනක අයුරින් සංවිධානය කිරීම.
- බහුමාධ්‍ය දර්ශන තිරපට මගින් විෂයට අදාළ කරුණු තහවුරු කිරීම.
- පංති කාමරයෙන් බැහැරව බාහිර පරිසරය තුළ ඉගෙනුම් අවස්ථා සලසා දීම.
- සැලසුම් කරන ලද ක්ෂේත්‍ර චාරිකා, අධ්‍යාපන චාරිකා සංවිධානය කිරීම.
- විශේෂයෙන්ම පෙළපොත් හා ගුරු අත්පොත්, තොරතුරු පත්‍රිකා පරිහරණය සඳහා යොමු කිරීම.
- සිසු නිර්මාණ පන්තියේ ප්‍රදර්ශනය කිරීම (සිතියම් කොටස් ඇඹීම (මැටි, පල්ප්, සිමෙන්ති, ප්ලාස්ටර්ඔෆ් පැරිස් වැනි දෑ මගින්) සිතියම් ඇඳීම, බිත්ති පුවත්පත්, සඟරා, කෙටි ප්‍රශ්න හා පිළිතුරු සංග්‍රහ සකස් කිරීම.
- භූගෝල විද්‍යා විෂය ඉගැන්වීම සඳහා වෙනම කාමරයක් වෙන්කර සංවර්ධනය කිරීම. (භූගෝල විද්‍යා කාමරය)
- සියලුම සිසුන්ට විෂය ඉගැන්වීම සඳහා භූගෝල විද්‍යා කාමරය යොදා ගැනීමට ඉඩ සලසා දීම. (විදුහල්පතිතුමා මගින්)
- විවෘත ග්‍රන්ථ පරීක්ෂණවලට යොමුකොට කරුණු ගවේෂණය කිරීම - පැවරුම් මගින්
- රූපවාහිනි, ගුවන් විදුලි, පුවත්පත්වල අධ්‍යාපනික වැඩසටහන් සාකච්ඡා සහ ලිපිවලින් තොරතුරු රැස්කිරීමට යොමු කිරීම. (පරිසර චාරිකා, පරිසර පුවත් සඟරා, භූගෝලීය පුවත්)
- විශ්ව විද්‍යාල, වෙනත් බාහිර ආයතනවල සම්බන්ධ කොටගෙන සිසුන් දේශන හා ප්‍රායෝගික වැඩසටහන්වලට සම්බන්ධ කිරීම.
- පාසල තුළ භූගෝල විද්‍යා සංගම්, තත්ත්ව කව, පරිසර සමිති පිහිටුවීම හා ක්‍රියාකාරිව පවත්වා ගෙන යාම.
- විෂයට සම්බන්ධ සම්පත් පුද්ගලයින්ගේ හා ආයතන මගින් උදව් උපකාර ලබා ගැනීම.
- විෂය ප්‍රගමනය හා ජනප්‍රිය කිරීම සඳහා කලාපීය, කොට්ඨාස තරඟ පැවැත්වීම හා ගුරු සිසු ඇගයීම.
- ප්‍රශ්න පත්‍ර සැකසීමේදී පළාත්, කලාපීය හා කොට්ඨාස මට්ටමින් ගුරු සංචිතයක් පවත්වාගෙන යාම.
- කලාපීය හා කොට්ඨාස මට්ටමින් ගුරුභවතුන් හා උපදේශකවරුන් ගවේෂණාත්මක චාරිකා සඳහා යොමු කරවීම.
- භූගෝල විද්‍යා විෂය කඳවුරු පැවැත්වීම.